සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2559ක් වූ මැදින් මස (ව්‍යවහාරික වර්ෂ 2016 මාර්තු)

54 වෙනි කලාපය







## සසරක හැටි !

මේ අත්බවේ **පියා** මේ අත්බවේම **මුණුබුරා** වෙයි...







රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදක්වන දහම් සංග්‍රහය



# පිරිනිවීම...











හත ලිස් පස් වසකි ලැබ බුදු පදවි පබා
ගත දුබල වී ඇත පෙර මෙන් නොමැත සොබා
සිත සවි බලය ගත යයි වැය පසට හඹා
ඇත සම්බුදු හිමිගෙ අවසන් මොහොත ලබා

බිම් සර නිරිඳු සහ කෝසල පසේ නදී
කම් සැප විඳිති මිය ගොස් සුරපුරේ වැදී
දම් සෙන්පතිද මොක් සුව අම රසේ විඳී
වම් සවි හිමිද පිරිනිවනේ නිවී හිඳී

අනේ පිඬු සිටුහු මහ දන් පිළි ගැන්වූ
පිනේ මහිමයෙන් දෙව් ලොව පිය මංවූ
දැනේ අඩුව ඒ සැම සෙනෙහස පෙන්වූ
බණේ හරය තිලකුණ බව සිහි ගැන්වූ

කුසිනා රාවෙ උපවත්තන සල් උයනේ
වසනා සඳෙහි ගත දුබලව හිමි එසැනේ
යහනා වක සැතපවින සල් ගස් සෙවනේ
තැවුනා අනඳ හිමි බුදු හිමි ළඟ සොවිනේ

හැඬුමට වැලපුමට නොසිතනු පුහු දෙයකි
හැම විට සකර දම් ලොව අනියත බවකි
දහමට අනුව පිළිපැද හැසිරෙනු යෙහෙකි
පිදුමට මෙමට ඔබ කළ යුතු එපමණකි

සදහම විනය දෙක ගුරු තනතුරෙහි තබා
සැනසුම ලැබිය යුතු මග ඵල නිවන ලබා
පැවතුම අනියතය එය සිහි කරනු නොබා
නැවතුම තිරය මරණය දහමකිය සොබා

පබැඳුම - කාව්‍ය ශිරෝමණී එස්. ඒ. එස්. පෙරේරා, පානදුර

# ධම්ම පදය තුලින් නිවන් මග

**21 වන කොටස**

එදා ලොව්තුරා බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලයේ උන්වහන්සේගෙන් අවසර අර ගෙන භික්ෂූන් වහන්සේලා පන්සිය නමක් භාවනා කරන්න කියල මහ වනයට ගියා. උන්වහන්සේලා කොච්චර උත්සාහ කළත් භාවනාව නම් වැඩුනෙ නෑ. ඒ නිසා මේ පන්සිය නමම කතා කරගෙන, අපි නැවතත් බුදුන් වහන්සේ හමුවෙලා මේ ගත්ත කර්මස්ථාන පිරිසිදු කරගනිමු කියල පිටත් වුනා. ලොව්තුරා බුදුන් වහන්සේ, මේ භික්ෂූන් වහන්සේලා පන්සිය නමම කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලයේ අනිච්ච සංඥාව මූලික කරගෙන අවුරුදු 20,000 ක් කර්මස්ථාන වඩල තියෙන බව දිවැසින් බලල දැනගත්තා. ඊට පස්සෙ මේ ගාථාව දේශනා කරල පහදල දුන්නා.



සබ්බෙ සංඛාරා අනිච්චාති
යදා පඤ්ඤාය පස්සති
අථ නිබ්බින්දති දුක්ඛෙ
ඒස මග්ගෝ විසුද්ධියා

සරල සිංහල තේරුම,

යමෙක් සියලු සංස්කාරයෝ අනිච්ච යැයි යම් විටෙක විදසුන් නුවණින් දැන ගනීද, එවිට දුක ගැන කලකිරෙයි. මේ කලකිරීම් කෙලෙසුන් කෙරෙන් පිරිසිදු වීමට, නිවන් ලැබීමට මගයි.

හැබැයි මෙතනදි "නිබ්බින්දති" කියන පාලි වචනයට සිංහල අර්ථය විදිහට දීල තියෙන්නෙ කලකිරීම කියල. නමුත් නිරුක්ති අර්ථයෙන් ගත්තම එන්නෙ නොබැඳෙනවා කියන අර්ථය. ඒ කියන්නෙ සියලු සංස්කාරයෝ අනිච්චයි කියල නුවණින් දැන ගත්තම දුකට බැඳෙන්න යන්නෙ නෑ. ඒ නොබැඳීම නිවන් ලබන්න මග වෙනවා. නමුත් මෙතනදි කලකිරීම කියන අර්ථයත් ගන්න පුළුවන්. හැබැයි ඒ මොන අර්ථයෙන්ද කලකිරීම කියන්නෙ කියල බලන්න ඕන. මොකද **කලකිරීම කිව්වම එන්නෙ කාලය කිර කිරා බලනව කියන අර්ථය.** එතනදි අර්ථ දෙකක් එනවා. එකක් තමයි මේ ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත නිසාම කලකිරීම. එතකොට ඒ අර්ථයෙන් කොහොමද කාලය කිරන්නෙ? මෙතනදි කාලයත් එක්ක සසඳල බැලුවොත් "මොනවද අපි ලෝකයේ ජීවත් වෙලා කරන්නෙ? මොනවද අපිට මේව කරල අන්තිමට ලැබෙන්නෙ? හරයක් ඇති දෙයක් ලැබෙනවද? එදා අපි මෙහෙම කළා. කෝ අද වෙද්දි ඒකෙන් ප්‍රතිඵල විදිහට ලැබුණෙ මොනවද? දුකෙන් දුකක්ම ගොඩනැගුන මිසක් වෙන එකක් නෑ. දැනුත් ඒ වැඩපිළිවෙලම කරගෙන ගියොත් අනාගතයෙත් ලැබෙන්නෙ ඒ වගේ දුක් ගොඩක්මයි" මෙන්න මේ විදිහට කාලය කිර කිරා බලන්න පුරුදු වුනොත් ඒ ඇතිවන කලකිරීම නිවන් දකින්න හේතු වෙනවා. ඒ නිසා කලකිරීම කියන එක ඒ අර්ථයෙන් ගත්තොත් ගැලපෙනවා.

එතකොට අනිත් අර්ථය තමයි, සාමාන්‍ය ලෝකයා තමන් යමක් බලාපොරොත්තුවෙන් ආස්වාද විඳගන්න නොලැබීම නිසා අසහනයෙන් කලකිරීම. "ලෝකයේ මෙච්චර සම්පත් තියෙනවා. ඒත් අපිට විඳගන්න අවස්ථාවක් නෑ. අනෙක් එවුන්ට තියෙනවා. අපිට මොකද මේ වෙලා තියෙන්නෙ? එදා අපි මෙච්චර මහන්සියෙන් වැඩ කරලත් අද අපිට ලැබිච්ච දෙයක් නෑ. මේ අසාධාරණ ලෝකෙ නිසයි අපිට මෙහෙම වෙලා තියෙන්නෙ. මෙන්න මේකට විසඳුමක් හොයන්න ඕන. එහෙම නැතුව ලෝකය අත් හැරල බෑ" මේ තමයි දහම් නොදැකපු සාමාන්‍ය ලෝකයා කාලය කිරන, කලකිරෙන ක්‍රමය. අන්න ඒ කලකිරීමෙන් නිවන් දකින්න බෑ. ඒ නිසා කලකිරීම කිව්වම මේ විදිහට අර්ථ දෙකක් තියෙන බව තේරුම් ගන්න ඕන.

දැන් නැවතත් මේ ගාථාවෙ නිදාන කතාවට යොමු වුනොත්, කෙනෙකුට හිතෙන්න පුළුවන්, බුදුන් වහන්සේ කලින්ම මේ සිදුවීම දැකල ඒ භික්ෂූන් වහන්සේලාට මේ දේ පහදල දුන්නෙ නැත්තෙ ඇයි කියල. උන් වහන්සේ හේතුවක් නැතිව යමක් කරන්නෙ නෑ. මේ භික්ෂූන් වහන්සේලා උත්සාහ කරල බැරිම තැන තමයි බුදුන් වහන්සේ ළඟට ආවෙ. ප්‍රතිඵල නැත්තෙ ඇයි කියල ප්‍රශ්නයක් තිබුනා. ඒ ප්‍රශ්නය විසඳගන්නයි ආවෙ. එහෙම උත්සාහ කරල බැරි වුනාම අඩුපාඩුව විතරයි පෙන්වන්න ඕන. ඒකෙන්ම ඉතුරු ටික සම්පූර්ණ කරගන්න පුළුවන්. මුලින්ම සේරම කිව්වනම්, සමහරු ප්‍රතිඵල ගත්තත් සමහරු අතහැරල දාන්න පුළුවන්. නමුත් උත්සාහ කරල බැරි වුනාට පස්සෙ අඩුපාඩුව පෙන්වල දුන්නම ඉතුරු ටික කරගන්න ලේසියි. ඉතින් උන්වහන්සේලා පන්සිය නමම සසර පුරුදු කරල තිබුනෙ අනිච්ච සංඥාව දකින්න, ඒ අනුව විදසුන් වඩන්න. ඒ පුරුද්දට පාර පෙන්නුවම ඒ අයට ඒ අනුව මග වඩන්න ලේසියි.

මුලින්ම බුදුන් වහන්සේ දේශනා කළේ, සියලු සංස්කාරයෝ අනිච්චයි කියල. හැබැයි නිකම්ම ඒ වචන ටික නොකිය විශේෂයක් පෙන්නුවා. ඒ විශේෂය තමයි විදසුන් නුවණින් මේක දකින්න ඕන කියන එක. ආර්ය මාර්ගය වැඩෙන්න නම් ඒ කිව්ව වචනවල අදහස විදසුන් නුවණින් දකින්නෙ නැතුව මොන වචනය කිව්වත් වැඩක් නෑ. කෙනෙකුට නුවණ තියෙන්න පුළුවන්. නමුත් මොකක්ද මේ විදසුන් නුවණ කියන්නෙ? ඒකයි දැනගන්න ඕන. මේ වචනයට තවත් වචනයක් කියනවා. මේ ලිපිය කියවන පින්වතුන් දැනටමත් ඒ වචනය අහල ඇති. ඒ තමයි යෝනිසෝමනසිකාරය. යම් සංඛාරයක් කළාම යම් ජාතියක උප්පත්තියක් ලබනවද, ඒ ජාතිය නිරෝධ කරන ක්‍රමය හිතන එකයි යෝනිසෝමනසිකාරය කියන්නෙ. **යෝනි+සෝ+මන+ඉසිකාර-සෝ (ස්ව) කියන්නෙ තමන්. යෝනි කියන්නෙ උපත. තමන්ගෙ උපත පිළිබඳ මෙනෙහි කිරීම, මනසින් බැලීම තමයි යෝනිසෝමනසිකාරය කියන්නෙ.** තමන් යමෙක් වෙලා උපදිනවනම් කොහොමද උපදින්නෙ කියල බලන්න ඕන. උදාහරණයක් විදිහට, තමන් කරපු වැඩෙන් තමන් බල්ලෙක් වෙලා ඉපදෙනව නම්, ඒ බල්ල වෙලා ඉපදෙන එක නතර කරන්න තියෙන ක්‍රමය තමයි ඒ බලු වැඩේ නොකර ඉන්න එක.

මේ විදසුන් නුවණ එක ☞

එක විදිහට විග්‍රහ කරන්න පුළුවන්. ඔය කිව්වෙ එක විදිහක්. නමුත් මොන විදිහට කිව්වත් අදහස එකම වෙන්න ඕන. නැත්නම් ගැලපෙන්නෙ නෑ. තව කෙනෙකුට කියන්න පුළුවන්, අපි සිතින් කයෙන් වචනයෙන් හිතන කරන කියන දේ ගැන අවධානයෙන් ඉන්නව කියල. මෙතන අවධානය කියල කිව්වෙ, කෙනෙක් හිතන කරන කියන දේ රාග සහගතද, ද්වේශ සහගතද, මෝහ සහගතද කියල බලන එක. ඒ දේ මේ තුනට අයිති නම්, මම ඒ දෙයින් වෙන් වෙලා ඉන්නව කියල එහෙම හිතන්න නුවණක් ඕන. මේ නුවණ පහල වෙන දෙයක්, ධර්මාවබෝධය තුලින් ලැබෙන දෙයක්. පෙර සසරේ එහෙම හිතන්න උත්සාහ කරපු අවස්ථා මේ නුවණ පහල කරගන්න ලොකු උදව්වක් වෙනවා. අර භික්ෂූන් වහන්සේලා පන්සිය නම අවුරුදු 20,000 ක් පුරුදු පුහුණු කරපු දේ වගේ. පුරුද්ද තියෙන කෙනාට ඒ පුරුද්දට පොඩි තල්ලුවක් දුන්නම එකපාරටම මතක් වෙලා වගේ ඉතුරු ටික කිසිම අපහසුතාවයකින් තොරව කරගෙන යන්න පුළුවන්කම ලැබෙනවා. ඉතින් අර පන්සිය නමම බුදුන් වහන්සේ දේශනා කරපු ගාථාව අවබෝධ කරගෙන අරිහත් වුනා.

දැන් බලන්න ඕන මෙතනදි සියලු සංස්කාරයෝ අනිච්චයි කියල උන්වහන්සේ දේශනා කළේ ඇයි කියල. ඇයි සියලු සංස්කාර කිව්වෙ? එතකොට මේ සියලු කියන කොටසට අයිති වෙන්නෙ මොනවද? ඇයි ඒවා අනිච්චයි කිව්වෙ? මුලින්ම බලන්න ඕන සියලු කියල උන් වහන්සේ අදහස් කළේ මොකක්ද කියල. සියල්ල දකින්න අපිට පුළුවන්ද? සියල්ල දකින්න නම් කෙනෙකුට සර්වඥතා ඥානය තියෙන්න ඕන. බුදුන් වහන්සේ සියල්ල කිව්වමයි, සැරියුත් මහ රහතන් වහන්සේ සියල්ල කිව්වමයි, අපි සියල්ල කිව්වමයි එක සමානද? සර්වඥතා ඥානයෙන් සියල්ල කියපු දේ, ශ්‍රාවක ඥානයෙන් අවබෝධ කරගන්න පුළුවන්. ඒකයි ක්‍රමය. ඒ නිසා තමයි ලොව්තුරා බුදුන් වහන්සේ නමක් ධර්මය දේශනා කළාම ශ්‍රාවකයන් වහන්සේලා ඒ දේශනා කරපු දේ අවබෝධ කරගෙන අරිහත් වෙන්නෙ. එහෙම නැත්නම් මාර්ග ඵලවලට පත් වෙන්නෙ. එතකොට සර්වඥතා ඥානයෙන් කියන සියල්ලයි, ශ්‍රාවක ඥානයෙන් වටහගන්න සියල්ලයි සමාන නැති වුනාට, වටහගන්න ටික ධර්මාවබෝධයට ප්‍රමාණවත්. උපමාවකින් කියනව නම්, ලුණු බිඳක් කට ගාපු කෙනා දන්නවා ලුණු රහ කියන්නෙ මොකක්ද කියල. ඒ පුද්ගලයට මහ මුහුද ලුණු රසද කියල දැන ගන්න, මහ මුහුදෙ තියෙන වතුර සියල්ලම ඕන වෙන්නෙ නෑ. මහ මුහුදෙන් මොන ස්ථානයකින් වතුර බින්දුවක් ගත්තත් ලුණු රසයි කියල දැන ගන්න පුළුවන්. ඒ වගේ තමයි සියලු සංස්කාර කිව්වමත්. ඒ ඒ මට්ටමෙන් මේ සියලු කියන වචනය පුද්ගලික වෙනවා. ඒ වගේම පරාසය වෙනස් වෙනවා. නමුත් හැඟීම එකයි.

තවත් උපමාවකින් කියනව නම්, පොඩි පැල්කොටයක් තියෙන කෙනෙක් කියන්න පුළුවන් මේ තමයි මගේ මුළු සේසතම (සියල්ල) කියල. ඒ පුද්ගලයට ඒ පැල්කොටය ඇතුලෙ එක පැදුරක්, කන්න බොන්න අවශ්‍ය කරන ආම්පන්න ටිකක් තියෙන්න පුළුවන්. ඒ තමයි ඔහුට තියෙන සියල්ල, ඔහුගෙ මුළු සේසත. නමුත් මහ කෝටිපති ව්‍යාපාරිකයෙක්, මේ මගේ මුළු සේසත (සියල්ල) කිව්වම, ඒ තුළ මහ මාලිගා වගේ ගෙවල් දෙක තුනක්, වාහන කීපයක්, අක්කර ගණන් ඉඩම්, ගෘහ භාණ්ඩ, මුදල් තියෙන්න පුළුවන්. හැබැයි දෙන්නම පාවිච්චි කළේ එකම වචනය. අර පැල්කොටේ අයිති කෙනාගෙ සියල්ලත්, මහ කෝටිපතියගෙ සියල්ලත් කොච්චර වෙනස්ද? නමුත් දෙන්නම ඒ සියල්ල රැකගන්න කරන උත්සාහයේ වෙනසක් නෑ. දුප්පත් කෙනා ඒ පැල්කොටේ රකින්න කරන උත්සාහයම තමයි කෝටිපති ව්‍යාපාරිකයා තමන්ගෙ මාලිගාවල් ටික රකින්න කරන්නෙත්. පිටින් බලන කෙනෙකුට පේන්න පුළුවන්, කෝටිපතියගෙ මාලිගාව පැල්කොටේට වඩා වටිනවනෙ කියල. පිටින් බැලුවම එහෙම පෙනුනට, තමන්ගෙ සියල්ල මේකයි කියල දුප්පත් කෙනා පැල්කොටේටත්, පොහොසත් කෙනා මාලිගාවටත් එක සමානව බැඳිල ඉන්නෙ. පැල්කොටේ කැඩුනම බිඳුනම ඒ දුප්පත් කෙනාට එන වේදනාවම තමයි මාලිගාව කැඩුනම බිඳුනම ඒ පොහොසත් කෙනාට එන්නෙත්. හැබැයි දුප්පත් කෙනාට කිව්වොත්, අන්න ඊයෙ අර පොහොසතාගෙ මාලිගාව ගිනි අරගෙන විනාස වෙලා කියල ඒ පුද්ගලයට ගානක්වත් තියෙයිද? නමුත් ඔහුටම කිව්වොත්, අන්න ඔබේ පැල්කොටේ පාරක් හදන්න හෙට ආණ්ඩුවෙන් කඩල බිඳල දානව කියල, ඒ දුප්පත් කෙනා නිකම්ම ඉඳියිද? එහෙම නැත්නම් අනේ අපොයි කියල විලාප තියාගෙන ඒ පැල්කොටේ රකින්න පුළුවන් හැම උත්සාහයක්ම ගනියිද?

තමන්ගෙ සියල්ල කියල හිතන් ඉන්න කොටස රකින්න දරන උත්සාහය එක එක විදිහට කරන්න පුළුවන්. හිතෙන් කරන්න පුළුවන්. අනේ දෙවියනේ මේ පැල්කොටේ විතරයි මට තියෙන්නෙ, මේක කොහොම හරි රැකල දෙන්න කියල ඉල්ලන්න පුළුවන්. එහෙම නැත්නම් කැඩෙන බිඳෙන වෙලාවට පිළිසකර කරන්න පුළුවන්. කවුරු හරි කඩන්න උත්සාහ කළොත්, කෑගහල බය කරල හරි ඒක රැකගන්න පුළුවන්. කවුරු හරි කැඩුවෙ බිඳුවෙ නැතත් ස්වභාවිකව හරි කැඩෙන්න බිඳෙන්න පුළුවන්. එතකොටත් මොනවහරි උපක්‍රම යොදල රැක ගන්න බලනවා. මෙන්න මේ කරන උත්සාහයට කියනවා සංස්කාර කියල. **සංස්කාර කියන්නෙ සංස්කෘත භාෂාවෙන්. පාලි භාෂාවෙන් කියන්නෙ සංඛාර කියල. හෙළ වචනය තමයි සංකර කියන්නෙ.** නමුත් අද වෙනකොට සංස්කෘත භාෂාව හෙළ භාෂාවට කාවැදිල තියෙන නිසා අපිට වැඩිපුර අහල පුරුදු සංස්කාර කියන වචනය. එතකොට හිතෙන්, කයෙන්, වචනයෙන් කියන මේ තුනෙන්ම සංස්කාර කරනවා. මොන ක්‍රමයෙන් සංස්කාර කළත්, කරන්නෙ තමන් බැඳිච්ච සියල්ල වෙනුවෙන්. ඒ ඒ කෙනාට සියල්ල කියන පරාසය වෙනස් වුනාට, සංස්කාර කරන්නෙ ඒ දේ රැකගන්න හෝ එහෙම දෙයක් ලබා ගන්න, ඒවායින් ආස්වාද විඳින්න.

මේ සංස්කාර කරන කොට ඊළඟට ගොඩනැගෙන දෙයක් තියෙනවා. උත්සාහ කරන්න කරන්න, රකින්න රකින්න, මේ දේ හිත තුල ගොඩ නැගෙනවා. මම ඉන්න පැල්කොටේ, එහෙම නැත්නම් මම ඉන්න මාලිගාව. මගේ පැල්කොටේ, එහෙම නැත්නම් මගේ මාලිගාව. මම කියනවා, මගේ කියනවා. ඒ වගේ සිතිවිලි කඳු ගොඩනගනවා. මේ සිතිවිලි අර කලින් කිව්ව සංස්කාර ප්‍රත්‍යයෙන් ගොඩ නැගෙන කොට විඤ්ඤාණ කියල කියනවා. මේ විඤ්ඤාණ නිසා, එහෙම නැත්නම් මගේ පැල්කොටය කිව්වම ඒකෙ හැඩය, තියෙන තැන, ප්‍රමාණය... මේ ආදී සියල්ලම මතකයට එනවා. මේකට කියනවා විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප සිතේ බැහැ ගන්නව කියල. මේ බැහගත්ත නාම රූප අනුව ඊළඟට වෙන්නෙ ඇස, කන, නාසය, දිව, කය සහ මනස කියන ඉන්ද්‍රියන් ආයතන බවට පත්වීම. ඒ කියන්නෙ, මගේ ගේ කිව්වම ඒක දකින්නත් ආසයි, ලස්සනට තියෙනවට ආසයි, ගේ හොඳට තියෙනව ඇහෙන් බලන්න ඕන, පොඩ්ඩක් හරි කැඩිල බිඳිල තියෙනව දකින්න කැමැත්තක් නෑ. පැල්කොටේ වුනත්, වෙන කාගෙ හරි ගෙයක් දැක්කම එන්නෙ නැති හැඟීමක් තමන්ගෙ පැල්කොටේ දැක්කම එනවා. "මේ මගේ පැල්කොටේ, මම වැටිල ඉන්න තැන, බිම නිදාගත්තත් සනීපයි, බිත්තිවලින් එන මැටි සුවඳත් මට වටිනවා." ඉතින් ඒ අනුව කලින් තිබිච්ච ඉන්ද්‍රියන් සේරම "මම, මගේ" කියන බැඳීම නිසා ආයතන බවට වෙලා.

ඒ කිව්වෙ, අර බැහැගත්ත නාමරූප ප්‍රත්‍යයෙන් සළායතන පහල වෙලා. මේ පහල වීම නිසා හිත තුල ඇතිවෙන හැඟීමක් තියෙනවා. අර කලින් කිව්ව තමන්ගෙකම නිසා හිතට දැනෙන දේට, සළායතන ප්‍රත්‍යයෙන් පහල වෙන දේට කියනවා ස්පර්ශ කියල. අපි වචනයක් කියනවා, හිතට වැදිල කියල. මේ හිතට වැදෙන දේ කොච්චර බලවත්ද කියනව නම්, ගේ දැක්ක ගමන් හැඟීමක් එනවා මගේ ගේ කියල. කවුරුහරි කිව්වොත්, ඔය කියන්නෙ අතන වංගුවේ තියෙන පැල්කොටේ නේද කියල, කෙලින්ම හැඟීම එනවා මේ මගේ ගේ, පැල්කොටේ වුනත් මට වටිනව කියල. මේ හිතට බැහැගත්ත දේ ඒ තරම් බලවත්. කියන කොටම දැනෙනවා, එහෙම නැත්නම් හිතට වදිනවා. තවත් විදිහකින් කියනව නම් ස්පර්ශ වෙනවා. මේ ස්පර්ශය එක්කො සුඛ වේදනාවක් දෙන්න පුළුවන්. එහෙම නැත්නම් දුක් වේදනාවක් දෙන්න පුළුවන්.

උදාහරණයක් විදිහට, අපොයි ඒක මහ ජරා අපායක්, මහ කැත ගෙයක්, ගුබ්බෑයමක්... වගේ හිත රිදෙන වචනයක් කිව්වොත්, අර පැල්කොටේ අයිති කෙනාට එන්නෙ දුක් වේදනාවක්. ඒකෙන් හිත රිදෙනවා, තැවෙනවා. ඉතින් මේ වේදනාව නිසා, ඒ වගේම අර "මම, මගේ" කියල අල්ල ගත්ත නිසා, අර විදිහට කිව්ව කෙනාට බනින්නත් පුළුවන්. සමහරවිට ඊට එහා ගිය දෙයක් වුනත් කරන්න පුළුවන්. මේ වේදනා ප්‍රත්‍යයෙන් ඊළඟට එන්නෙ තව තවත් ඒ ගෙදරට ඇලීම. ඇලිල එතනම රැඳෙනවා. එහෙම නැත්නම් ඒ ගෙදරට තව තවත් හාවෙනවා. මේ ඇලීමට, හාවීමට කියනවා තණ්හා කියල. ඒක නිකම්ම එන්නෙ නෑ. කලින් හිතට වැදිච්ච දේ අනුව, එහෙම නැත්නම් වේදනා ප්‍රත්‍යයෙන් මේ තණ්හාව හටගන්නෙ. නමුත් එතනින් නවතින්නෙ නෑ. උත්සාහය අර පැල්කොටේ තව තවත් ඔප මට්ටම් කරන්න. ඔප මට්ටම් වෙන්න වෙන්න අර තණ්හාව බලවත් වෙනවා.

ඒකෙන් ඊළඟ පියවරට යනවා. මේ තණ්හාව බලවත් වෙලා ඒ ප්‍රත්‍යයෙන් උපාදාන හටගන්නවා. මේ උපාදානය නිසා ඒ ගෙදර තමන්ගෙම, මගේම කියල හිතන තැනට එනවා. වෙන කෙනෙක් ඒ ගෙදර ගැන මොකුත් කියනවට කැමති නෑ. වෙන කෙනෙකුට දෙන්නත් කැමති නෑ. අල්ලගෙනම ඉන්නවා. හරියට මේ මනුස්සයයි ගෙදරයි එකම එකක් වගේ. ඒ භවට පත්වෙලා ඉන්නවා. මැරුණත් දෙන්නෙ නෑ කියන තැනට හිත එනවා. අර උපාදානයේ බලවත්කම නිසා ඒ ප්‍රත්‍යයෙන් භව කියන තැනට එනවා. ඒ මනුස්සය තමන්ගෙ ගේ නිසා, ඒ ගෙදරට ඇලුන නිසා යම් කිසි තත්වයකට, එහෙම නැත්නම් ජාතියකට පත්වෙන්න මේ වෙනකොට ශක්තිය ගොඩ නගල තියෙන්නෙ. එක්කො බහිරවයා (භවයට හිරවීම) කියන ජාතියේ, එහෙම නැත්නම් පෙරේත කියන ජාතියේ. දැන් එතනින් හෙල්ලෙන්නෙවත් නැතුව ඉන්නවා. දැන් මේ හටගත්ත ජාතිය සැපක්ද දුකක්ද කියල ඇහුවොත් සැපක් කියන්නද? නිතරම ඉන්නෙ පිච්චි පිච්චි මගේ ගෙට මොකක් හරි වෙයිද, ආණ්ඩුවෙන් කඩයිද, පුතා හෝ දුව හෝ මේක විකුණල දායිද කියන සිතිවිල්ලෙ. දැන් අර සතුටින් මගේ ගේ කිය කියා හිටපු එක ජරාවට, දුකකට පෙරලිලා. සතුට මැරිල ගිහින් මරණයට පත්වෙලා. ඉතුරු වෙලා තියෙන්නෙ ශෝකයයි, පරිදේවයයි, දුකයි, දෝමනස්සයයි, උපායාසයයි විතරයි.

දැන් මේ පැල්කොටේ වෙන්න පුළුවන්, මහ මාලිගාව වෙන්න පුළුවන්, තමන්ගෙ ගේ කියන මානසිකත්වය තමයි තියෙන්නෙ. මට මෙච්චරයි, මේ මට තියෙන සියල්ල කියල ඉන්න පුළුවන්. ඒත් අවසාන ප්‍රතිඵලය වෙන්නෙ මොකක්ද? ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන දුක් ගොඩක්. එහෙම දුක් ගොඩක් අවසානයේ එන දේකට ඇලීම බැඳීම සුදුසුද කියල කෙනෙක්ගෙන් ඇහුවොත්, ඔළුවක් මොළයක් තියෙන කෙනෙක් සුදුසුයි කියයිද? ඉතින් මේ නුසුදුසු දේට තමයි අපි සියල්ල කිව්වෙ. මේ සියල්ල අනිසියි, සුදුසු නෑ කියන අර්ථය තමයි අර ගාථාවෙ මුල් පද පේළියෙන් ලොව්තුරා බුදුන් වහන්සේ පෙන්නුවෙ. කලින් කිව්ව වගේ, මගේ සියල්ල තව කෙනෙක්ගෙ සියල්ල නොවෙන්න පුළුවන්. මම ආස දේට තව කෙනෙක් ආස නැති වෙන්න පුළුවන්. ඒකයි මුලින්ම කිව්වෙ, මේ සියල්ල කියන එක පුද්ගලික දෙයක් කියල.

හැබැයි මෙතනදි "සියල්ල" කියන වචනය ගත්තෙ අවස්ථානුකූලව කොටසක් විතරක් විග්‍රහ කරන්න. ඒ කියන්නෙ දේපල ඉඩකඩම් කියන පොඩි කොටසක් විග්‍රහ කරන්න විතරයි. නමුත් මනුස්සයෙක් ගත්තම තවත් කෙලවරක් නැතිව ලෝකයේ දේවල් අල්ලගෙන ඉන්නෙ. කයින් විතරක් නෙවෙයි මනසිනුත් අල්ලගෙන. සියල්ල කිව්වම ඒවත් අයිති වෙනවා. ඒ නිසා විසාල පරාසයකින් ඉතාම සුළු කොටසක් විතරයි මේ "සියල්ල" කියල සම්මත කරල පෙන්නුවෙ.

ඔය සියල්ල විදසුන් නුවණින් තමයි මුලින් බැලුවෙ. ඒ අනුව බැලුවම තමයි මේක මහ දුක් ගොඩක්නෙ කියල වැටහෙන්නෙ. ඉතින් ඇයි මම මේවා බදාගෙන ඉන්නෙ කියල කලකිරෙනවා. තව තවත් බදාගන්න ගියොත් තව තවත් දුක එනවා. අයින් වුනොත් දුක ඉවතට යනවා. දුක ගැන කලකිරෙන්නෙ එහෙමයි. ඒක නුවණින් දකින්න ඕන. **අපිට දුක ගෙන දෙන්නෙ අපි වැඩිපුරම ඇලුම් කරන දේවල්වලින්. ඒ වැඩිපුරම ඇලුම් කරන දේවල්වලින් අපිට ආස්වාදයක් එනවා. ඒ දේවල්වලට විරුද්ධව යමක් ආවොත් දුකක් එනවා. ඒ ආස්වාදය පස්සෙ යන නිසයි දුක එන්නෙ.** ඒ නිසයි උන්වහන්සේ ආස්වාදය කියන එකට උපමා වචනයක් පොදුවෙ දැම්මෙ දුක කියල.

මෙතනදි ආස්වාදය කියන එක දුක කියල ගන්නත් පුළුවන්, දුකට හේතුව කියල ගන්නත් පුළුවන්. ආස්වාදය දුකක් කියල දකින්නෙත්, දුකට හේතුව කියල දකින්නෙත් ප්‍රඥා චෛතසිකයෙන්. ආස්වාදයේ අවසන් ප්‍රතිඵලය දුක්කමයි ඒක දුකට හේතුව කියල වැටහෙන්නෙ. මොකද **ආස්වාදය කියන එක කවදාවත් පිරෙන්නෙ නෑ. ගෙවිල යනවා. අන්තිමට අසහනයක්මයි එන්නෙ.** අනිත් එක තමයි ආස්වාදය ආස්වාදයක් හැටියට දකින්නෙ වේදනා චෛතසිකයෙන්.

එතකොට දුක ගැන කලකිරෙන්නෙ, එහෙම නැත්නම් ආස්වාදය ගැන කලකිරෙන්නෙ, මේ සියල්ල කියල ගත්ත කොටස රැකගන්න කරන මහන්සිය නුවණින් දැක්කම. මේ දේ තේරුම් ගත්ත කෙනා තමයි දුකින් මිදෙන්නෙ. දුකින් මිදෙන්න නම්, දුක ගැන කලකිරෙන්න ඕන. ඒකට ආස්වාදයේ ආදීනව කලින් දැක්ක වගේ දකින්න ඕන. ඒ දැක්කම තමයි දුක ගැන කලකිරෙන්නෙ. ඉතින් මේ නුසුදුසු දේ කරන්න ගියාමයි දුක එන්නෙ. ඒ දුක ගෙනත් දෙන නුසුදුසු දේ ඡන්දරාගයෙන් පරිහරණය කිරීමේ තේරුමක් තියෙනවද කියල නුවණින් බලන කොට දුකින් මිදෙන පැත්තට යනවා.

මේ ටික පහදල දුන්නම තමයි අර පන්සීයක් භික්ෂූන් වහන්සේලා අරිහත් වුනේ. ඔය ජාතියේම තවත් භික්ෂූන් වහන්සේලා පිරිසකට මේ කාරණය බුදුන් වහන්සේ වෙන විදිහකට පෙන්නුවා. ඒ මේ ගාථාවෙන්.

සබ්බේ සංඛාරා දුක්ඛාති
යදා පඤ්ඤාය පස්සති
අථ නිබ්බින්දති දුක්ඛේ
ඒසමග්ගෝ විසුද්ධියා

සරල සිංහල තේරුම,

යමෙක් සියලු සංස්කාරයෝ දුක්ඛ යැයි යම් විටෙක විදසුන් නුවණින් දැන ගනීද, එවිට දුක ගැන කලකිරෙයි. මේ කලකිරීම් කෙලෙසුන් කෙරෙන්

පිරිසිදු වීමට, නිවන් ලැබීමට මගයි.

ඉතින් කලින් වගේම මේ අවස්ථාවෙත් සියල්ල කියන කොටස පැහැදිලියි. කලින් උදාහරණයම අරගෙන බැලුවොත්, දැන් අර ගෙදර නිසා හෝ පැල්කොටය නිසා කෙනෙක් විඳින දුක පැහැදිලියි. මුල ඉඳලම දුකයි. මිනිස්සු ඒ පැල්කොටේට එක එක කතා කියනවා. ඒක දරාගන්න බෑ. මේ දුකට කියනවා දුක්ඛ දුක්ඛ කියල. ඒ කියන්නෙ පටන් ගන්නෙම දුකකින්. තවත් විදිහකින් කියනවනම්, දුක් වේදනාවට ද්වේශයෙන් බැඳීම දුක්ඛ දුක්ඛ කියල කියනවා. ඉතින් හොඳ ගෙයක් ලබා ගන්න දුක් විඳිනවා. එක එක දේවල් කරනවා. ණය ගන්නවා, ඒ ණයෙන් ගෙයක් හදනවා. ණය ගෙවනවා. ණය ගෙවන්න වෙනදට වැඩිය මහන්සි වෙන්න ඕන. මොකද ඒක අමතරව ගත්ත ණයක්. කන බොන දේට අමතරව දැන් ඉන්න ගෙටත් ණයක් අරගෙන. මේ කරන දේ සැපක් නෙවෙයි. ඒක හොඳටම පැහැදිලියි. ණය ගෙවන්න අමතරව වැඩ කිරීම සැපක් නෙවෙයි, දුකක්. ඒකට කියනවා සංඛාර දුක්ඛය කියල. තවත් විදිහකින් කියනවනම්, සැප වේදනාවට රාගයෙන් බැඳිල ගොඩනැගීම සංඛාර දුක්ඛය කියල කියනවා. ඒක විඳගෙන හොඳ ගෙයක් කියන ආස්වාදයට අහුවෙලා අර විඳින දුක පේන්නෙ නෑ. ඒක ආස්වාදයෙන් වැහිල. ඒක විදසුන් නුවණින් දකින්නම ඕන.

දැන් ගේ හදල ඉවරයි. හරිම ලස්සන ගෙයක්. නමුත් ටික ටික මොකද වෙන්නෙ? ගෙදරට ආලේප කරල තියෙන තීන්තෙ පාට ටික ටික අඩු වෙනවා. මේ වෙනසට කැමති නෑ. මේ අකමැති වෙනසට කියනවා විපරිණාමය කියල. පරිණාමය කැමති විදිහට නෙවෙයි වෙන්නෙ. ඒකත් දුකක්. එහෙම නැත්නම් උපේක්ෂා වේදනාවේ අවිද්‍යාවෙන් බැඳුනම විපරිණාම දුක්ඛ වෙනවා. විපරිණාම දුක්ඛ කිව්වෙ, ඔය අකමැති වෙනසක් ඇතිවෙනකොට හිතේ ඇතිවෙන අපහසුතාවයට. එහෙම නැත්නම් පිච්චීමට. **ගේ හදන්න පටන් ගත්තු වෙලාවෙ ඉඳන් හදල ඉවර වෙනකලුත්, හදල ඉවර වුනාම රැකගන්නත් දුක් විඳිනවා. එහෙම දුකක් විඳගෙන කරන දෙයක් සුදුසුද නැත්ද කියල ඇහුවම දෙන උත්තරේ කොහොම එකක් වෙන්න ඕනද?** සුදුසු නෑ කියල උත්තර දෙනව මිසක් වෙන මොනව කියන්නද? එහෙම සුදුසු නැති දේක හරයක්, වටිනාකමක් තියෙන්න පුළුවන්ද? විදසුන් නුවණින් දුක දකින කෙනා, අර කලින් කිව්ව වගේම දුක ගැන කලකිරිල දුකෙන් මිදෙනවා. කලින් වගේ නුසුදුසු දේ නිසා දුක එන හැටි දකිනවා. මේ ක්‍රමයෙන් දුක එන දේ නුසුදුසුයි කියල දකිනවා. ඔය දෙවිදියෙන්ම හරයක් නෑ කියල දකිනවා. ඒ නිසා නැවතත් යන්නෙ දුකින් මිදෙන නිවන් මගටමයි. ඉතින් මේ විදිහටත් ප්‍රඥාවෙන් දැකල ඒ භික්ෂූන් වහන්සේලා අරිහත් වුනා.

ඔය ක්‍රම දෙකට අමතරව තවත් ක්‍රමයක් ලොව්තුරා බුදුන් වහන්සේ තවත් භික්ෂූන් වහන්සේලා පිරිසකට මේ ගාථාවෙන් පෙන්වා දුන්නා.

සබ්බේ ධම්මා අනත්තාති
යදා පඤ්ඤාය පස්සති
අථ නිබ්බින්දති දුක්ඛේ
ඒසමග්ගෝ විසුද්ධියා

සරල සිංහල තේරුම,

යමෙක් සියලු ධර්මයෝ අනර්ථ යැයි, අසාර යැයි, අනාත යැයි යම් විටෙක විදසුන් නුවණින් දැන ගනීද, එවිට දුක ගැන කලකිරෙයි. මේ කලකිරීම් කෙලෙසුන් කෙරෙන් පිරිසිදු වීමට, නිවන් ලැබීමට මගයි.

මේ කියන්නෙ සියලු ධර්ම අනාතයි, අසාරයි කියල. සියලු ධර්ම කිව්වම හීන දහම්, මධ්‍යම දහම්, ප්‍රණීත දහම් කියන මේ සියල්ලම අයිතියි. සතර අපායට යන හීන දහම් කොහොමත් අනාතයි කියල වැටහෙනවා. චතුරාර්ය සත්‍යය දැකපු කෙනා, දිව්‍ය ලෝක වගේ සුගතිවලට යන්න තියෙන මධ්‍යම දහමත් අනාතයි කියල දකිනවා. එතකොට ප්‍රණීතම දහම වන නිවන් දකින චතුරාර්ය සත්‍යයත් අනාතයි කියල දකින්නෙ කොහොමද? මේකට හොඳ උදාහරණයක් තියෙනවා. බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ එක්තරා මනුස්සයෙක් උන්වහන්සේ ඇසුරේ බණ අහමින් ඉඳල අනාගාමී වෙලා නිතරම ඒ බණ අහන්න, බුදුන් වහන්සේ දකින්න, ඒ පරිසරය ඇසුරු කරන්න බොහොම කැමති වුනා. ඒ කියන්නෙ පටිච්ච වුනා. ඉතින් මට නම් නැවත උප්පත්තියක් ඕන නෑ කියල හිතාගෙන හිටියට මැරිල ගිහින් බලන කොට බඹ ලොව ඉපදිලා. මොකද වුනේ කියල හේතුව හොයන කොට තමයි දැන ගත්තෙ, මේ ධර්ම රතියට පටිච්ච වෙලා ඒකත් හොඳයි වටිනවයි කියල හිතාගෙන හිටපු නිසා ඒ ජාතියේ පරිසරයක උපත ලබපු බව. එතකොට බඹ ලොව කියන්නෙත් මේ තිස්එක් තලයේ තියෙන තවත් අනාත ලෝකයක්. අනාගාමී වුනත් බඹ ලොව ඉපදෙනවා. ඒ නිසා තමයි බුදුන් වහන්සේ ඒකත් අසූචියක් වගේ කියල පෙන්නුවෙ. කොහේ වුනත් පැවැත්මක් තියෙනවනම් අනිච්ච දුක්ඛ අනත්තමයි. **ඒ නිසා නිවන් දකින ප්‍රණීත දහම වුනත්, නිවන් දැක්කට පස්සෙ අල්ලගෙන යන්න වටින එකක් නෙවෙයි. ඔරුවෙ උපමාව තමයි මේකට පෙන්වන්නෙ. ගඟෙන් එතෙර වෙන්න ඔරුව පාවිච්චි කළාට, එගොඩ වුනාට පස්සෙ ඔරුව කර තියාගෙන යන්නෙ නෑ. එහෙම කර තියාගෙන ගියොත් ඒක මහ අනාත, හරයක් නැති වැඩක්. එතකොට මේ කියන ප්‍රණීත දහමත් අනත්ත නම් අනෙක් දහම් ගැන කවර කතාද?**

ඉතින් එහෙම හරයක් නැති දේකට වටිනාකමක් දීල ඒක රකින්න යනව නම්, ඒ කරන උත්සාහයේ තේරුමක් තියෙනවද කියල ඇහුවොත් මොන වගේ උත්තරයක් ලැබෙයිද? ලැබෙන නුවණක්කාරම උත්තරය වෙන්නෙ හරයක් නෑ කියන එක. හරයක් නැති වැඩක් කරන්න ගියාම කෙනෙකුට එන්නෙ දුකක්ද සැපක්ද කියල ඇහුවොත් දෙන උත්තරය කොහොම වෙයිද? ඕන කෙනෙක් කියයි දුකක්නෙ එන්නෙ කියල. හරි ඒ දුකක් එන දේ පස්සෙ දුවන එක, ඇලෙන එක සුදුසුද කියල ඇහුවොත්? අපොයි ඒ පැත්ත පලාතෙ යන්න හොඳ නෑ, එහෙම නැත්නම් සුදුසු නෑ කියන උත්තරය තමයි ලැබෙන්නෙ. ඒ කියන්නෙ නිසි නෑ, අනිසියි. කලින් වගේම මේ විදිහටත් විදසුන් නුවණින් දුක දකින කෙනා, අර කලින් කිව්ව වගේම දුක ගැන කලකිරිල දුකෙන් මිදෙනවා. කලින් වගේ නුසුදුසු දේ නිසා දුක එන හැටි දකිනවා. මේ ක්‍රමයෙන් දුක එන දේ නුසුදුසුයි කියල දකිනවා. ඔය තුන් විදියෙන්ම හරයක් නෑ කියල දකිනවා. නැවතත් යන්නෙ දුකින් මිදෙන නිවන් මගටමයි. ඉතින් මේ විදිහටත් ප්‍රඥාවෙන් දැකල ඒ භික්ෂූන් වහන්සේලා අරිහත් වුනා.

දැන් මේ ගාථා තුනෙන්ම පැහැදිලි වෙන්නෙ, අනිච්ච නිසා දුකයි, ඒ දුක දේ අනර්ථයි (අනාතයි), එහෙම නැත්නම් දුක නිසා අනිච්චයි ඒ නිසා අනර්ථයි කියල. ඒ වගේම අනර්ථ නිසා දුකයි ඒ දුක දේ අනිච්චයි. මුලින් ප්‍රඥාවෙන් මොකක් දැක්කත්, පෙර පසු නොවී අනෙක් කරුණු දෙකත් ඉබේම තේරුම් යනවා. ඒකට පිලිවෙලක් නෑ. අනිසියි, සුදුසු නෑ කියල දැක්ක කෙනත්, දුකයි කියල දැක්ක කෙනත්, හරයක් නෑ කියල දැක්ක කෙනත් අනෙක් කරුණු දෙක ඉබේම දකිනවා. අවසානයේ සසරෙන් මිදෙනවා. මග වඩල නිවන පූර්ණ කරගන්නවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළිය - මග්ග වග්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**
**072-7536839**

# ලොව සැමට එක සේ පොදු අනිච්චතාව

4

අනිච්චතාවය නිසා දුක හටගන්නෙ කොහොමද? ධම්මචක්කප්පවත්තන සූත්‍රය තවත් විස්තර සහිතව පහදපු සැරියුත් හිමියන්ගෙ දේශනයක් තමයි සච්චවිභංග සූත්‍රය කියන්නෙ. එතැනදි බුදු පියාණන් වහන්සේ මේ විදිහට දේශනා කරනවා. "මහණෙනි, සැරියුත් මුගලන් දෙනම සේවනය කරව. භජනය කරව. සාරිපුත්‍රයෝ සිවු අරිසස් විස්තර සහිතව පවසන්න, දෙසන්න, පනවන්න, පිහිටුවන්න, විවරණය කරන්න, විභාග කරන්න, ප්‍රකට කරන්න ප්‍රභූ වෙති" මෙතනදි පැහැදිලිව දුක්ඛ ආර්ය සත්‍යය බෙදල විග්‍රහ කරල දේශනා කරල තියෙනවා. බුදු පියාණන් වහන්සේත් අනුමත කරපු මහා ප්‍රාඥ සැරියුත් මහ රහතන් වහන්සේගෙ දේශනාවක අඩු පාඩුවක් තියෙන්න විදිහක් නෑ. ඒ දේශනාවෙ ජාති දුක, ජරා දුක, මරණ දුක..... හටගන්න විදිහ විස්තර කරන්නෙ මෙහෙමයි.

කතමං වාවුසෝ යම්පිච්ඡං න ලබති තම්පි දුක්ඛං, ජාති ධම්මානං ආවුසෝ සත්තානං ඒවං ඉච්ඡා උප්පජ්ජති, අහෝ වත මයං න ජාති ධම්මා අස්සාම, න ච වත නෝ ජාති ආගච්ඡෙයියාති. න බෝ පනේතං ඉච්ඡාය පත්තබ්බං ඉදම්පි යම්පිච්ඡං න ලබති තම්පි දුක්ඛං.

ඇවැත්නි, සත්වයන්ට ජාති ධර්ම පිළිබඳ මෙහෙම කැමැත්තක් ඇතිවෙනවා. අනේ මෙහෙම ජාති ධර්මයක් එන්නෙ නැත්නම් කොච්චර හොඳද? නමුත් ඒක කවදාවත් කැමැත්තට අනුව සිදු වෙන දෙයක් නෙවෙයි. ඒ නිසා ජාති ධර්මයක් කැමති සේ නොලැබෙයි නම් ඒක දුකයි.

ජාති ධර්ම කියන්නෙ අපේ කැමැත්තට ලබාගන්න පුළුවන්, අපේ කැමැත්තට ක්‍රියාත්මක වන ඒවා නෙවෙයි. ඒක තමයි යථාර්ථය. උදාහරණයකින් විස්තර කළොත්, අපේ කය කියන්නෙ ජාති ධර්මයක්. මේ කය ඕනම වෙලාවක ලෙඩ වෙන්න පුළුවන්, ඔත්පල වෙන්න පුළුවන්. අපි ඒකට කැමති නෑ. නමුත් එහෙම වෙනවා. මේ කය වැහැරෙනවා, වයසට යනවා. ඒකටත් අපි කැමති නෑ. නමුත් ඒකත් වෙනවා. නවත්වන්න බෑ. එක පාරටම හදිසි අනතුරකට ලක් වෙන්න පුළුවන්. අතක් පයක් කැඩෙන්න පුළුවන්. ඇස් නොපෙනී යන්න පුළුවන්. මැරෙන්න පුළුවන්. අපි එහෙම දෙයක් ගැන



හිතන්නවත් කැමති නෑ. නමුත් අපේ කැමැත්ත එහෙම වුනාට ඉහත විස්තර කරපු සියල්ල ඕනෑම වෙලාවක සිද්ධ වෙන්න පුළුවන්.

බඩගින්න එනවා, පිපාසය එනවා, ආහාර ගන්නවා, වතුර බොනවා. ලෙඩ වෙනවා, බෙහෙත් ගන්නවා. මේ වගේ තාවකාලික ප්‍රතිකර්ම කරනවා. දරන්න බැරි බඩගින්නට ආහාර ලැබුනෙ නැත්නම්, පිපාසයෙන් පීඩිත වෙලා ඉන්න වෙලාවක වතුර ලැබුනෙ නැත්නම් ඊළඟට එන දුක, දාහය කොච්චරද? ඒක තමයි කයේ උරුමය. කැමති සේ නොපවතින කයකින් අපේ මූලික කැමැත්ත වන ඇස, කන, නාසය, දිව, කය, මන පිනවගන්න, ආස්වාද විඳින්න බලාපොරොත්තු වෙනවා. ආස්වාද විඳින්න මේ ටික නැතුව බැරි නිසා මේ ටික හොඳයි, වටිනවා, සාරයි කියන අවිද්‍යාවෙන් අර ගෙන ඡන්ද රාගයෙන් අල්ල ගන්නවා, තණ්හා වෙනවා, උපාදාන කරගන්නවා. එතකොට නැවතත් සංඛාරය අනුව භවයක් හටගෙන ජාතියක් ගොඩනගා ගත්තට පස්සෙ ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසවලින් බේරෙන්න විදිහක් නෑ. මේ තමයි ජාති ධර්මයක් දුක දෙන හැටි.

එතකොට කැමති යමක් නොලැබීම කියල අමුතු දෙයක් නෑ. ඒක තියෙන්නෙ කොහෙද? ජාති ධර්ම තුල, ජරා ධර්ම තුල, ව්‍යාධි ධර්ම තුල, මරණ ධර්ම තුල, ශෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාස ධර්ම තුලමයි කැමති සේ නොලබන දුක තියෙන්නෙ. මේ ධර්මවලට භාවීම, යාවීම, බැඳීම නිසයි අපට දුක් විඳින්න සිද්ධ වෙලා තියෙන්නෙ. මේ ධර්ම කැමති සේ පවතිනව නම්, ලෝකයේ දුකක් හටගන්න විදිහක් නෑ. **කැමති සේ නැති ස්වභාවය තුල සැපක් එනව කියල කාටවත් කියන්න පුළුවන් කමක් නෑ. දුක අසහනය එනව මිසක් සැපක් එන්නෙ නෑ. කැමති සේ නොපවතින, දුක දෙන මේ ධර්ම කොච්චර ඇසුරු කළත් විමුක්තියක් ලැබෙන්නෙ නෑ, සැනසිල්ලක් ලැබෙන්නෙ නෑ. අසහනයම ඇති කරමින් සසර ගමනක් අරගෙන යනව මිසක් සහනයක් ලැබෙන්නෙ නෑ. අද බැරි නම් හෙට හෝ ඉදිරි අනාගතයේ හෝ සහනයක් ලැබෙයි කියල බලාපොරොත්තු වෙනවා. නමුත් ඒක කැමැත්තට සිද්ධ වෙන එකක් නෙවෙයි.** එහෙනම් ඒ ධර්ම සියල්ල අනාතයි, අසාරයි. මේ ටික වැටහුන දවසට දැනගන්නවා, අනන්ත සසර ගමනක් ආවෙ හරයක් නැති දෙයක හරයක් හොයාගෙන මේ ධර්ම තුල නේද කියල. මේ මේ ජාති තිබුන නම් කොච්චර හොඳයිද කියල වැරදි දැක්මක් අරගෙන ☞

සැරිසරන්නෙ, මේ හරයක් දෙන්නෙ නැති ජාති ධර්ම තුලම නේද කියල වැටහෙනවා.

එතකොට මොනවද මේ ජාති ධර්ම? අරියපරියේසන සූත්‍රයේ බුදු පියාණන් වහන්සේ මේ විදිහට විස්තර කරනවා.

මහණෙනි, කුමක් ජාති ධර්ම යයි කියන්නේද? පුත්‍රධාරාවෝ ජාති ධර්මයෝයි, දැසි දස්හු ජාති ධර්මයෝයි, එළු බැටළුවෝ ජාති ධර්මයෝයි, කුකුලන් හා ඌරන් ජාති ධර්මයෝයි, ඇත් ගව අස් වෙළඹහු ජාති ධර්මයෝයි, රන් රිදී ජාති ධර්මයි. මහණෙනි, මේ පංචකාම ගුණ උපධීහු ජාති ධර්මයෝයි. මෙහි තෘෂ්ණාවෙන් බැඳුනාවූ මුසපත් වූ බැස ගත්තාවූ මේ ලෝ වැසි තෙමේ ජාතිය ස්වභාව කොට ඇත්තේ ජාති ධර්මයක්ම සොයයි.

ඒ කියන්නෙ "මම, මගේ" **කියන සියල්ල ජාති ධර්මවලට අයිතියි. මේ එකක්වත් කැමති විදිහට පවත්වන්න පුළුවන් ධර්ම නෙවෙයි, කැමැත්ත ඉෂ්ට කරන ධර්ම නෙවෙයි.** අපි මේවා ඇසුරු කරන්නෙ සැනසිල්ලක් ආස්වාදයක් බලාගෙන. දේපොළ, ඉඩකඩම්, යාන වාහන, අඹු දරුවො, නෑදැයො... මේ ආදී වශයෙන් අපි හොඳයි සැපයි සාරයි කියල ගන්න දේවල්වලින් සැනසිල්ලක්, සුවයක් හොයනවා. නිදහසේ ආස්වාද විඳගෙන ඉන්න ඇත්නම් කියල ආස්වාදයක්ම හොයනවා. හැබැයි මේ සැනසිල්ල හොයාගෙන යන අසහනකාරී ගමන නිසාම සත්ත්වයා දුක් විඳිනවා. මොකද ඒවායේ ස්වාභාවය තමයි කැමති සේ නොපැවතීම, කැමැත්ත ඉෂ්ට නොකිරීම. ඒ දුක් විඳ විඳ හරි ඒවා පරිහරණය කරල කවද හරි සැනසිල්ලක් විමුක්තියක් දෙනව නම් ඒවා ඇසුරු කළාට කමක් නෑ. බුදු පියාණන් වහන්සේ මේකට හොඳ උපමාවක් දේසනා කරනවා.

ඒ කාලෙ දෙතිස් වදවලට අයිති එක්තරා දඬුවමක් තිබුනා. ඒ දඬුවම තමයි දවස ගානෙ ශරීරයට උල්වලින් ඇනීම. කවද හරි මැරෙනකල් වේදනා විඳ විඳ ඉන්න අත්වලට, කකුල්වලට, බඩට, පිට කොන්දට ආදී හැම තැනටම හැම දාම තුවාල වෙන්න උල්වලින් අනිනවා. ටික දවසක් යනකොට ඉතා කටුක වේදනාවන් විඳල විඳල තුවාලවලින් එන කායික වේදනාව ඉවසගන්න බැරිව මරණයට පත් වෙනවා. ඉතින් උපමාව වශයෙන් ගත්තෙ මේකයි. මනුස්සයෙකුට මේ දඬුවම නියම කළා වගේ, එක දවසකට උදේට උල් පාරවල් සියයක් අනිනවා. නැවතත් දවල්ට උල් පාරවල් සියයක් අනිනවා, රෑටත් උල් පාරවල් සියයක් අනිනවා, හැමදාම මේ විදිහට උල් පාරවල් අනිනවා. මේ මනුස්සයට මේ අධික වේදනාව ඉවසගෙන අවුරුදු සියයක් ජීවත් වෙලා අවසානයේ නිවන ලැබෙනව නම්, වහාම උඹලා මේකට ඉදිරිපත් වෙයල්ලා කියල බුදු පියාණන් වහන්සේ දේසනා කරනවා. නමුත් එහෙම ක්‍රමයක් නෑ. මේක උපමාවක් විතරයි. මොකක්ද මේකෙන් පෙන්වන්නෙ? එක් අත්බවයක් දුකක් විඳල හරි කමක් නෑ අවසානයේ විමුක්තිය ලැබෙනව නම්, අනන්ත සංසාරයක් දුක් විඳිනවට වඩා ඒක වටිනවා. මොකද අනන්ත සංසාරයක අපි විඳින දුක, අවුරුදු සියයක් දවසට තුන් සිය පාරක් උලකින් අනින දුකට කොහෙත්ම සම කරන්න බෑ.

ඊළඟට දරුවො කියන්නෙත් ජාති ධර්මයක්. විවාහ වෙච්ච තරුණ යුවලක් දරු සම්පත්තියක් බලාපොරොත්තු වෙනවා. දරුවා ලැබුනට පස්සෙ මොකද වෙන්නෙ? දරුවා කියන්නෙ අපිට කැමති සේ පවත්වන්න පුළුවන් ධර්මයක් නෙවෙයි. කොච්චර රක්ෂණය පෝෂණය කළත් කවද හරි ඒකාන්තයෙන් විනාස වෙන, කැඩිල බිඳිල විනාස වෙන, කඩල බිඳල විනාස කරන්න පුළුවන් කෙනෙක් තමයි දරුවා කියන්නෙ. අපල උපද්‍රව හදිසි අනතුරු ලෙඩ රෝගවලට ගොදුරුවන තවත් සත්ත්වයෙක් තමයි දරුවා කියන්නෙ. තවත් විදිහකින් කිව්වොත් කර්ම ගබඩාවක්. අනන්ත සසරක පෘතජ්ජනව ආපු කෙනෙක් වැඩියෙන්ම කරල තියෙන්නෙ පාප කර්ම. එහෙනම් ප්‍රවෘත්ති විපාක වශයෙන් වැඩියෙන්ම ඇදිල එන්න පුළුවන්කම තියෙන්නෙ පුණ්‍ය කර්ම වෙන්න බෑ. නමුත් අපේ බලාපොරොත්තුව මොකක්ද? "අනේ මේ දරුවට අනතුරක් වෙන්න එපා. අතක් පයක් කැඩෙන්න එපා. ලෙඩ රෝග හැදෙන්න එපා. කිසිම කරදරයක් නම් වෙන්න එපා. දරුව හොඳට කීකරුව ඉන්න ඕන. ඒ කියන්නෙ අපි කියන දේම කරන්න ඕන. (කී+කරු - කියන දේ කරන) හොඳ ලස්සනට ඉටි රූපයක් වගේ ඉන්න ඕන. දරුවට සමාජයේ හොඳ තැනක් තියෙන්න ඕන. හොඳට ඉගෙනගෙන අනෙක් හැමෝටම වඩා ලොකු මිනිහෙක් වෙන්න ඕන. හොඳට කාර්යක්ෂම වෙන්න ඕන. කිසි කෙනෙකුටත් පැරදෙන්නෙ නැති කෙනෙක් වෙන්න ඕන. අපිට නම් හරියට ඉගෙන ගෙන ලොකු පොහොසතෙක් වෙන්න තිබුන කැමැත්ත ඉෂ්ට වුනේ නෑ. හැබැයි දරුවා ඒවටත් හරියන්න අපේ තියෙන ඔක්කොම ප්‍රශ්න විසඳල දෙන්න ඕන. අපේ කැමැත්ත ඉටු කරල දෙන්න ඕන". ඕව තමයි අහස උසට තියාගෙන ඉන්න බලාපොරොත්තු. හැබැයි මේ එකක්වත් අපිට ඕන විදිහට දරුවා තුල නෑ. ඒත් අපි ආදීනව බලාපොරොත්තු වෙන්නෙ නෑ. දරුවා නමැති ජාති ධර්මයේ අනිච්ච ස්වභාවය ප්‍රඥාවෙන් අපි දකින්නෙ නෑ.

දරුවා ලැබෙන්න ඉන්න බව දැනගත්තු දවසෙ ඉඳල සුන්දර ලෝකයක් හිතින් මවා ගන්නවා. දරුවා ලැබුනම සුරතල් කරන හැටි, කවන පොවන හැටි, ලස්සන ඇඳුම් අන්දවල හැඩ බලන හැටි, උඩ පැන පැන ඇවිදින හැටි, උපන් දින සාද ගන්න හැටි, පින්තූර ගන්න හැටි, පාසැල් යවන හැටි, දරුවට උගන්වන හැටි... මේ ආදී නොයෙකුත් දේ හිතනවා, අහස් මාළිගා තනනවා. මේ හැර දරුවගෙ ආදීනව කිසිවක් හිතට එන්නෙ නෑ. ආදීනව මතක් වුනත් හිතන්න කැමති නෑ. විපත්තිය සම්පත්තියක් විදිහටම දකිනවා. මහා දුකක් උරුම කර දෙන දෙයක් ගැන ආස්වාදය විතරක් හිතමින් විපරීත සංඥාවෙන් අදහස් ගන්නවා. ආස්වාදය නමැති මුලාවෙන් සියල්ල වැහෙනවා. එක දරුවෙකුට එක දවසක වෙන්න තියෙන කරදරවල ස්වභාවය බැලුවොත්, ඒවා වුනේ නැති වුනාට, වෙයි කියල තියෙන බය කොච්චරද? දෙමව්පියන්ගෙ හදවත් පැලෙන්න ඒ ටික හොඳටම ඇති.

ළමයි දෙන්නෙක් පාසැල් ඇරිල එන ගමන් පැහැරගෙන ගිහින් කියල ආරංචි වෙනවා. මගේ දරුවද දන්නෙ නෑ. තාම ගෙදර ආවෙත්

නෑ. දූන් අම්ම තාත්ත රත් වෙනවා. නිච්චි නැතිව දුවනවා. හැම තැනම හොයනවා. පාසැලට යනවා. අහල පහල අනෙක් ළමයින්ගෙ ගෙවල්වලට යනවා. කොහෙවත් නෑ. අන්තිමට පොලීසියටත් යනවා. ගින්න හොඳටම වැඩි වෙනවා. දරුවා මේ මොකවත් දන්නෙ නෑ, ටිකක් හවස්වෙලා කිසි ගානක් නැතුව ගෙදර එනවා. බලනකොට සෙල්ලම් කරන්න යාළුවෙක් එක්ක කොහෙද ගිහින්. දූන් ඒ දෙමව්පියන්ට මේ පැය දෙකක තුනක කාලය තුල ඇති වෙච්ච දාහය වචනවලින් කියන්න පුළුවන්ද? එතකොට මේ දැවීම දුන්නෙ ආස්වාදයක් බලාපොරොත්තු වෙච්ච දරු සම්පත්තිය නේද? ගෙදර කුණු අපද්‍රව්‍ය දාන තැනක් තියෙනවා. දූන් ආරංචි වෙනවා එතනට ඌරෙක් ඇවිත් කුණු ටික කාල ගියා කියල. ඒකෙන් අපිට ප්‍රශ්නයක් එනවද? මේ අපි නොහිතන පැත්තක්. අපි දන්නෙ නෑ මේ දුක් දෙන්නෙ අපිට සැප දෙනව කියල හිතාගෙන ඉන්න දේවල් කියල. බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා, ප්‍රියයි මධුරයි කියල හිත බැඳෙන දේවල්වල දුක දකින්න කියල. ඒවායේ තමයි අපි තණ්හා වෙන්නෙ. බැඳෙන්නෙ. ඒ තණ්හාව තමයි අපිට දුක් විඳින්න හේතු වෙන්නෙ.

යං ලෝකේ පිය රූපං සාත රූපං එත්තේසා තණ්හා උප්පජ්ජ මානා උප්පජ්ජති එත්ත නිවීසමානා නිවීසති.

යම් ප්‍රිය මධුර රූපයක් තියෙනවනම් එතැන තමයි තණ්හාව උපදින්නෙ, එතනම තමයි තණ්හාව පහ කළ යුත්තෙත්. හැබැයි මෙතනදි රූප කියන්නෙ ඇහැට පේන රූප විතරක් නෙවෙයි. ශබ්ද රූප, ගන්ධ රූප, රස රූප, පොට්ඨබ්බ රූප, ධර්ම රූප කියන සියල්ලම අයිතියි. අපි ප්‍රියයි මධුරයි කියල යම් ධර්මයකට තණ්හා වෙලා බැඳුනෙ නැත්නම් අපිට දුකක් විඳින්න විදිහක් නෑ. එහෙනම් තණ්හාව දුරු කළ දාට අපිට දුක් විඳින්න හේතුවක් නෑ. තණ්හාව නමැති හේතු නිරෝධයෙන් දුක නමැති ඵලය හටගැනීම නිරෝධ (නිර්+උදා) වෙනවා. සෝපාදිසේස නිර්වාන ධාතුවෙන් නිවන් පූර්ණ කළ දාට අවිද්‍යාවෙන් පටිච්ච සමුප්පන්නව ඒ ඒ මොහොතෙ ගොඩනගන මානසික දුක සහමුලින්ම නිරෝධයි. ඒ දුක නැවත හටගැනීමක්, උදාවීමක් නෑ. ඒ වුනාට පෙර භවයේ අවිද්‍යාවෙන් හටගත් මේ කුණු කයට අයිති දුක් ටික නම් (විපාක දුක) අනුපදිසේස නිර්වාන ධාතුවෙන් පිරිනිවන් පාන දවස වෙනකල් විඳින්න වෙනවා. ඒ කියන්නෙ නිවන හරියටම පූර්ණ වෙන්නෙ එදාට. ඒ නිසා පිරිනිවන් පාන කල් කයට උරුම දුක් ටික උපේක්ෂාවෙන් විඳිනවා. කය කෙලවර වෙන බවත් එදාට ඒ දුක අවසන් වෙන බවත් රහතුන් වහන්සේ දන්නවා. ඒ නිසා තමයි රහතුන් වහන්සේ පිරිනිවන් පාන දවස එනකල් බලාගෙන ඉන්නව කියල කියන්නෙ. ආර්යයෙක් නොවන කෙනෙකුට මේක කිව්වොත් විශ්වාස කරයිද? ඒකට හේතු තියෙනවද? මොකද අවිද්‍යාවෙන් තණ්හාවෙන් නොමිදුනු පෘථජ්ජනයා බලන්නෙ කොහොමහරි නොමැරී ජීවත් වෙන්න. කොහොමද අමරණීය වෙන්නෙ කියල අනාර්යන්ට වැටහෙන්නෙ නෑ.

පෘතජ්ජනයා උත්සාහ කරන්නෙ තණ්හාව නමැති හේතුව තියාගෙන දුක නමැති ඵලයෙන් මිදෙන්න. ප්‍රියයි මනාපයි යහපතයි කියල හිතාගෙන ඉන්න ඒවා තමයි දුකට හේතු වෙන්නෙ. එහෙනම් බය වෙන්න ඕන ඒවට. මොකද දුකට ඇදල දාන්නෙ ඒ ප්‍රිය මධුර ධර්ම. දුක්ඛං බයට්ඨේන කිව්වෙ ඒකයි. **ප්‍රිය මධුර ධර්ම තමයි දුක ගෙන දෙන්න මුල් වෙන්නෙ.** ඒකයි මුල දකින්න කිව්වෙ. ඒත් අද බලාපොරොත්තු වෙන්නෙ අග දකින්න. මහළු වෙන හැටි, ලෙඩ වෙන හැටි, මැරෙන හැටි බල බලා ඒවායින් මිදිල ඉන්න ක්‍රම හොයනවා. ඒ කියන්නෙ දුක් ඵලය දිහා බල බලා ඉන්නවා මිසක්, ඒකට හේතු වෙච්ච ප්‍රිය මධුර ධර්මවලට තියෙන තණ්හාවෙන් මිදෙන්න දන්නෙ නෑ.

බුදු දහම කියන්නෙ සියලු දේ අත හැරීම කියල හුග දෙනෙක් හිතාගෙන ඉන්නවා. හැබැයි අත හරින්න හැදුවට එහෙම ලේසියට අත හරින්න බැරි බවත් වැටහෙනවා. අතහරින්න උත්සාහ කරන කොට අත හැරීම වෙනුවට තව තවත් ඇලෙනවා, තණ්හා වෙනවා. ඇයි එහෙම වෙන්නෙ? අතහැරීම කියන්නෙ ඵලයක්. ඒකෙ හේතුව තමයි ආස්වාදයේ ආදීනව දැකීම. ආදීනව දකින කොට ඒකෙ හේතුවේ ඵලය විදිහට අතහැරෙනවා. එහෙම නැතුව බලෙන් අත හරින්න හැදුවට වෙන්නෙ නෑ. ඒ කියන්නෙ ආස්වාදයේ ආදීනවය වන අනිච්ච, දුක්ඛ, අනත්ත නිවැරදිව අවබෝධ වෙච්ච දවසට නිස්සරණය වන තණ්හාවෙන් මිදීම සිදුවන දෙයක්.

අනෙක තවත් සමහරු අවබෝධයකින් තොරව ද්‍රව්‍ය වස්තු අතහරින්න දඟලනවා. ද්‍රව්‍ය වස්තු අතහැරීමක් නෙවෙයි මෙතන සිද්ධ වෙන්නෙ. ඒවා කෙරෙහි ඇති කරගන්න තණ්හාව, එහෙම නැත්නම් ඡන්ද රාගය දුරු කිරීම. ඡන්ද රාගය කියන්නෙ හිතේ හටගන්න දෙයක් මිසක් ද්‍රව්‍ය වස්තුවල තියෙන දෙයක් නෙවෙයි. නිවන් දැක්කට පස්සෙ, ඡන්ද රාගයෙන් තොරව අවශ්‍යතාවයට විතරක්, ජීවිතය පවත්වගන්න විතරක් ද්‍රව්‍ය වස්තු පරිහරණය කරනවා. හරියටම කියනවනම් නිවන් දැක්කට පස්සෙ ද්‍රව්‍ය ඉතුරු වෙනවා. ඒවා වස්තු කරගන්නෙ නෑ. ද්‍රව්‍යයක් වස්තුවක් වෙන්නෙ ඒ කෙරෙහි ඡන්ද රාගයෙන් බැඳුනම. නිවන් දැක්කට පස්සෙ තමයි වැටහෙන්නෙ, මේ ජීවිතය අවසන් වෙනකල් ගෙවන්න අත්‍යවශ්‍ය වෙන්නෙ සිවු පසය විතරයි කියල. ඒ කියන්නෙ චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලාන ප්‍රත්‍ය. එහෙම නැත්නම් ඇඳුම්, ආහාර, ඉඳුම් හිටුම්, බේත්හේත්.

ඒ වගේම දැනගන්න ඕන, වේදනා චෛතසිකයෙන් නිවන් දකින්න බෑ කියල. වේදනා චෛතසිකයෙන් කරන්නෙ ආස්වාදයම ඔප් නංවල දෙන එක. එතකොට ආස්වාදය ගෙන දෙන්නාවූ සංඛාර නිසා ඇතිවන විඤ්ඤාණ බලවත් වෙලා ආස්වාදයටම හිත ඇදිල යනවා. ආස්වාදයේ ආදීනවය දකින්නෙ ප්‍රඥා චෛතසිකයෙන්. දහම් ඇස පහල වෙලා ප්‍රඥාවෙන් ආදීනවය දැක්ක දවසට අනිච්ච වූ ලෝකයෙන් මිදෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**

# නූතන විද්‍යාවට හසු නොවූ මනෝ ක්‍රියාකාරීත්වය දහම් ඇසින්

*(52 කලාපයෙන් - ඉපදීම හෙවත් ලෝකයේ පහළවීම ලෝකෝත්තර ඇසින්...)*

අපි රූපයක් බලන බලාපොරොත්තුව නිසා ඇති කරගත් ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති කියන මේවා නැවත නැවතත් පැවැත්වීමේ බලාපොරොත්තුවෙන් ඇතිකර ගත් ශක්තිය, නාම රූප මගින් නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් බවට පත් වෙලා, ඒ ධර්ම ''මනංච පටිච්ච ධම්මේ ච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං'' කියන සිත් පහල වන ක්‍රමය අනුව මනායතනයේ ගැටිල, ඒකෙ ප්‍රතිඵල වශයෙන් ඒ ආකාරයෙන්ම පිළිබිඹු කරමින් විඤ්ඤාණ ක්ෂණ පරම්පරා නිපදවනවා. ඒ හේතුවෙන් රූප පිළිබඳ දැනීම නැවත පහල කරනවා.

මෙතනදි නාම රූප සහ නාම ගෝත්‍ර (මතක සටහන්) අතර තියෙන සම්බන්ධය මොකක්ද කියල කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. නාම කියන්නෙ වේදනා, සංඥා, සංඛාර. රූප කියන්නෙ ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන සතර මහා භූත සහ උපාදාය රූප. උපාදාය රූප කියන්නෙ සතර මහා භූත නිසා හැදිච්ච රූප. උදාහරණ විදිහට චක්ඛු ප්‍රසාද, සෝත ප්‍රසාද... කාය ප්‍රසාද කියන්නෙ උපාදාය රූප. මේ කාරණය විභංගප්‍රකරණයේ පටිච්ච සමුප්පාද විභංගයේ විස්තර කරල තියෙනවා.

**නාම රූප කියන්නෙ ක්‍රියාකාරී දෙයක්. ඒ නිසා තමයි කර්ම විපාක කියල දෙයක් එන්නෙ. නමුත් නාම ගෝත්‍ර කියන්නෙ ක්‍රියාකාරීත්වයක් නැති මළ ස්වභාවයක්, නිකං සටහනක් විතරයි. මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කළොත්, කෙනෙක් ගලක් උඩ ගැහුවොත් බිම ඉන්න කෙනෙකුගෙ ඔළුවට වැටිල තුවාල වෙන්න පුළුවන්. ඒ වගේ ක්‍රමවේදයක් තමයි නාම රූප කියන්නෙ. දැන් මේ සිද්ධිය පැත්තක සවි කරල තියෙන CCTV කැමරාවක සටහන් වුනොත් ඒ සටහන් වීම අර වගේ සජීවී ක්‍රියාකාරී වීමක් නෙවෙයි. අන්න ඒ වගේ දෙයක් තමයි නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් කියන්නෙ.**

කර්මයෙන් පටන්ගෙන කර්ම, චිත්ත කියන දෙකෙන් මොහොතක්



ගානෙ රූප ගොඩනැගෙනවා. ඒ ගොඩනැගෙන ඒවා තමයි නාම රූප කියන්නෙ. එහෙම ගොඩනැගෙන මොහොතෙදි ඉහත සඳහන් කරපු නාම රූපය නිර්මාණය වූ බවට නාම ගෝත්‍රය හෙවත් මතක සටහන නිපදවනවා. **ඒ නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් කියල දෙයක් තියෙන නිසා තමයි චතුර්ථ ධ්‍යානය වඩපු ඕනෑම කෙනෙකුට ඒ ධ්‍යානයට ගිහින් පෙර විසූ කඳ පිළිවෙල බලන්න පුළුවන් වෙන්නෙ.** එහෙම සටහනක් නොතිබුනානම්, ඒක විනාස වෙලා තිබුණනම්, එහෙම බලන්න පුළුවන් කමක් ලැබෙන්නෙ නෑ.

මේවා අනිදස්සනං අප්පටිගං ධම්මායතන පරියාපන්න රූපං කියන රූප කොටසට අයිතියි. මේවාට ධර්ම රූප කියල කියනවා. අනිදස්සනං කියන්නෙ ඇහැට පේන්නෙ නෑ. නමුත් ඥානයට ගෝචරයි. අප්පටිගං කියන්නෙ අතකින් ස්පර්ශ කරන්න බෑ. නමුත් ධම්මායතන පරියාපන්න රූපං කිච්චම මනසට දැනෙනවා.

උදාහරණයක් විදිහට හීනයක් රූපයක් වශයෙන් මස් ලේ ඇහැට පේන්නෙ නෑ. ඒ කියන්නෙ අනිදස්සනං. හැබැයි සංඥා වශයෙන් දැනෙන නිසා මනසට ගෝචරයි. ඒක අපි හදල ගන්න එකක් නෙවෙයි. උදාහරණයකින් පැහැදිලි කරනව නම්, අපිට කෙනෙක් කතා කරනව වගේ ඇහුනොත් ඉතිරි ටික අපි හිතෙන් මවා ගන්නවා. මෙහෙම කෙනෙක් මේ විදිහට කතා කරනවා ඇති කියල ඒ හැඩතලය අපි මනසින් මවා ගන්නවා. මැවුනට පස්සෙ ඒකෙ තියෙන්නෙත් නාම රූප. නවීන විද්‍යාවේ එන උදාහරණයකින් තවදුරටත් මේ කාරණය පැහැදිලි කළොත්, **ජංගම දුරකථන දෙකක බ්ලූටූත් තාක්ෂණය ක්‍රියාත්මක කරල එකක තියෙන වීඩියෝ දර්ශනයක් අනිකට යවනවා. එතකොට තත්පර හෝ විනාඩි ගණනක් ඇතුළත ඒ දර්ශන රාමුවට අදාළ දත්ත අනික් ජංගම දුරකථනයට යනවා. හැබැයි එහෙම මොකවත් යන බවක් අපිට පේන්නෙ නෑ. නමුත් ක්‍රියාත්මක කරල බලන කොට ඒ ජංගම දුරකථනයෙත් ඒ වීඩියෝ දර්ශනය ඒ විදිහටම ක්‍රියාත්මක වෙන නිසා, අනිවාර්යෙන්ම එකකින් අනෙකට යමක් ගිහින් තියෙන බව අපි දන්නවා. එතනදි ගමන් කරන විද්‍යුත් චුම්බක කිරණ වගේ දෙයක් තමයි නාම රූප කියන්නෙ.**

එතකොට මේ නාම රූපවලින් ගන්න වේදනා, සංඥා, සංඛාර ☞

කියන ඒවා නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් බවට පත්වෙනවා. නාම ගෝත්‍ර බවට පත්වුනාට පස්සෙ ඒවා විනාස වෙන්නෙ නෑ. නමුත් විපරිනාමයට පත්වෙනවා. ඒ කියන්නෙ ඒකාකාරීව තියෙන්නෙ නෑ, කාලයත් සමග ක්‍රමයෙන් අතීතයට යනවා, ඈත්වෙනවා. ඒකත් විපරිනාමයි. තිබ්ච්ච තත්වයෙන්ම තියෙන්නෙ නෑ. එතකොට කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, එහෙනම් කල්ප කෝටි ගණන් ගිහිල්ලත් ඒ සිද්ධ වෙච්ච දේවල් නැවත සිහි කරන්න පුළුවන් වෙන්නෙ කොහොමද කියල. නාම ගොත්තං නජිරතී- නාම ගෝත්‍ර දිරන්නෙ නෑ කියන ධර්මතාවය නිසා තමයි එහෙම වෙන්නෙ. ඒ කියන්නෙ විපරිනාමය වුනාට දිරන්නෙ නෑ. මෙතනදි විපරිනාමයක් කියන්නෙ යම් කිසි පෙරළීමක්. නම්‍යතාවයකට අනුකූලව පරිවර්තනය වීමක්. ඒ කියන්නෙ වැනසෙනවා කියන එක නෙවෙයි.

මේ කියපු නාම රූප තුළ හෝ නාම ගෝත්‍රවල, පංචද්වාරවල (චක්ඛායතන, සෝතායතන, ඝානායතන...) හෝ ඒවාට ගෝචර වෙච්ච බාහිර රූප කලාපයන්ගෙන් යමක් තැන්පත් වෙනවද? නෑ. මේ කාරණය උපමාවකින් පැහැදිලි කරන්න පුළුවන්. බෙරයක ඇසකට කෝටුවකින් ගැහුවොත්, ඒ ක්‍රියාව සිද්ධ කරන කොටම, පෙර පසු නොවී එතැනින් හඬක් නිකුත් වෙනවා. මේ හඬ බෙර ඇසේ කෝටුව වැදීමේ ප්‍රතිඵලයක්. නමුත් බෙර ඇසේ හෝ කෝටුවේ අංශු මාත්‍ර කැබලිවලින් ඒ බෙර හඬ නිර්මාණය වෙලා තියෙනවද? නෑ. නමුත් හඬ නම් ඒ ගැටීම නිසාම ඇති වෙච්ච දෙයක්.

මේ වගේම රූපයන් ඇසේ ගැටීමෙන් විඤ්ඤාණ පහළ වෙනවා. ගැටීමත් සමග මතු වෙච්ච බෙර හඬ වගේ, ගැටෙන මොහොතත් සමගම ඒ විඤ්ඤාණය පහළ වෙනවා. හඬ කියන්නෙ කම්පනයන් හඳුන්වන නමක් විතරයි. යමකට ආදේශව නැගෙනකොට ඒ නමින් හඳුන්වනවා. ඒ වගේම විඤ්ඤාණය කියන්නෙත් නාමයක්. ඇසුරු කරමින් පැන නැගුණු දේට අනුව ඒ නමින් හඳුන්වනවා. හඬ ඇති තැන යෙදෙන ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති ආදිය හඬ නිසාම උපදිනවා. හඬක හඳුන්වන ආකාර, ලිංග, නිමිති... ආදිය හඬකින් තොරව පහල වෙන්නෙ නෑ. ඒ ආකාර, ලිංග, නිමිති ආදියෙන් තොරව හඬක් අහන්න ලැබෙන්නෙත් නෑ. විඤ්ඤාණයත්, නාම රූපත් එසේමයි. හම් කඩක් තිබුණත්, ලී දඬු තිබුණත්, නිපදවීමක් නොවුණ නම් බෙර හඬ, හේවිසි හඬ ආදියක් ඇති වෙන්නෙ නෑ. මේ උපකරණ හදන්න, ඒවා වාදනය කරන්න යම් ශක්ති රටාවක් ක්‍රමානුකූලව ක්‍රියා කරවන්න ඕන. ඒ ශක්තියට ගෝචර වන ද්‍රව්‍ය වස්තුවල හැඩ ගැන්වීමෙන් ඉහත කියපු හඬ විද්‍යමාන කරනව මිසක්, ඒ විදිහෙ ශක්තිය ක්‍රම රටාවකට ක්‍රියාත්මක නොකළ නම් එබඳු භාණ්ඩයක් හෝ හඬක් විද්‍යමාන වෙන්නෙ නෑ. ඒ වගේම යම් ලතාවකට, රටාවකට, ආකාරයකට, ලිංගයකට, නිමිත්තකට, උද්දේසයකට අනුරූප පරිදි ක්‍රියාකාරී ශක්තිය නිපදවීමේ ප්‍රතිඵලය විදිහට, කර්ම ශක්තිය ප්‍රතිචාර දක්වන කොට ''මනංච පටිච්ච ධම්මේච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං'' කියන ක්‍රියාවලියක් සිද්ධ වෙනවා.

මේ නාම ගෝත්‍ර කියන ඒවා මනසට ගට්ටනය වන ධර්මවලට අයිතියි. කර්ම ශක්තිය කියන්නෙ ඒවා වට කරල තියෙන ශක්තියක්. උදාහරණයක් විදිහට ගලක් උඩ විසි කළාම ශක්තියෙන් වට කරල උඩ යනව වගේ. මෙතනදි මතක සටහන් මතු කරන නාම ගෝත්‍ර ශක්තිය (කර්ම ශක්තිය) තුළ රූප කලාපවල මූලධර්ම හෝ ඒවායින් කිසිවක් නෑ. නමුත් රූප කලාප පාලනය කරන, හසුරුවන බලයක් ඒවායේ තියෙනවා. ඒ ශක්තියට ගෝචර වෙච්ච රූප කලාප විශ්වයෙත් ක්‍රියාකාරී වෙන්න පුළුවන්. උදාහරණ විදිහට ගලක් උඩ විසි කරනවා. **උඩ යන ගල ශක්තියකට ගොදුරු වෙච්ච නිසා, දීපු ශක්තියට අනුකූලව ක්‍රියා කරල උඩ යනවා. මේ ගල උඩ විසි කෙරුවෙ අතින් නම්, අතේ අංශු මාත්‍රවලින් හෝ ගලේ අංශු මාත්‍රවලින් හෝ ඒ ශක්තිය නිර්මාණය වුණේ නෑ. ඒ ශක්තිය රූප කලාපවලට හාත්පසින්ම වෙනස් ස්වභාවයක් ගන්නවා.** ඒ වගේම මතක ශක්තිය, කර්ම ශක්තිය, වේදනා, සංඥා ආදී චෛතසික, රූප පරමාණුවල විවිධ අවස්ථා විදිහට පෙන්වන සමහර අදහස් පසුගිය කාලයේ විවිධ මාධ්‍ය ඔස්සේ ප්‍රසිද්ධියට පත් කරල තිබ්ච්ච නිසා යථාවබෝධය සඳහායි මේ වැඩිමනත් විස්තරය විග්‍රහ කළේ. ජලයේ ස්වභාවය පෙන්වන්න ගින්නෙන් උපමා සෙව්වත්, සිත හෝ කර්ම ශක්තිය සම්බන්ධව විස්තර කරන්න රූප කලාප උපමා කිරීම දුෂ්කරයි. මේ සිත සහ කර්ම ශක්තිය, රූප කලාපවලට වඩා වෙනස් දෙයක් බව සිතින්ම හඳුන ගන්න ඕන.

අවිද්‍යාවෙන් හටගත් ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන ගති හතරත්, තණ්හාවෙන් හටගත් වර්ණ, ගන්ධ, රස, ඕජා කියන ඒ සමග පවතින මේ හතරත් ඇතුලු ඒ ස්වභාව අට අවිනිර්භෝග රූප හෙවත් එකිනෙකට වෙන් කළ නොහැකි රූප හැටියටත්, කිසි කලෙක වෙන් කළ නොහැකි ධර්මතාවන් ලෙස පවතින බවත් අභිධර්ම ග්‍රන්ථවල පෙන්වා තියෙනවා. මේවා සුද්ධාෂ්ටක කියල හඳුන්වනවා. යම් විදිහකින් වේදනා (වීමක් දනවන), සංඥා (''සං'' යන එකතුවෙන් හැඳුණු දේ දැනෙන ආකාරය) ආදී චෛතසික (සිත සමග එකතුවක් වූ) තේජෝ ධාතුවලින් ගොඩනැගිල සකස් වෙලා රටාවන් බවට පත්වෙලා විශ්වයේ පවතිනවයි කියල ගත්තොත්, ඒවා රූප කලාප කියල පිළිගන්න වෙනවා. ඒක එහෙම නම්, විශ්ව තලය තුළ මේ චෛතසික ධර්ම සඳහා යම් කිසි ඉඩ ප්‍රමාණයක් තියෙන්න ඕන. අති සියුම් වූ, හේතු ප්‍රත්‍යයෙන් හටගත් රූප කලාප නම් විශ්වයේ තියෙන්න පුළුවන්. නමුත් ඒවා සිත පිළිබඳ සම්බන්ධ වෙච්ච ඒවා නෙවෙයි, රූප කලාපයන්මයි. හේතු ප්‍රත්‍යයෙන් හසුරුවන රූප කලාප ගැන කරුණු තේරුම් ගන්න බැරිව ඒවාට නාම කලාප කියල කීම මුළාවක්. හරියට රූකඩ නටවනව දකින පොඩි දරුවෙක්, නටවන නූල නොදැක රූකඩයා නටනව කියල වැරදි හැඟීමක් ගන්නව වගෙයි. මේ ගැන කල්පනා කරල බලන එක හොඳයි. රූප හෝ පරමාණු කියල විද්‍යාඥයන් කියන කුඩා රූප හෝ සුද්ධාෂ්ටක ප්‍රාණ බවින් තොරයි. හරියට රූකඩ වගෙයි. දීපු ශක්තිය අනුව ක්‍රියාත්මක වෙනවා. (සුද්ධාෂ්ටක කියන්නෙ මූල භාවයට පත් වූ කොටස් අට. මේ අටෙන් එහාට තවත් බිඳ හරින්න දෙයක් නෑ. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා කිව්වෙ මේ අටට).

එහෙනම් වේදනා, සංඥා වශයෙන් විශ්වයේ වෙනම යමක් පවතිනවද? ඒවා පවතිනව නම් විඤ්ඤාණයක් (විකෘති ඤාණය හෙවත් විකෘති දැනීම) තුළම පවතින්න ඕන. මොකද වේදනා, සංඥා ආදී චෛතසික විඤ්ඤාණයකින් තොරව නිදැල්ලේ පවතිනවයි කීම ධර්ම විරෝධියි. ඒ වගේ ''මනංච පටිච්ච ධම්මේච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං'' කියල පෙන්වන විදිහට, මනායතනයට ධර්මයෝ සට්ටනය වන ක්‍ෂණයේම විතරයි මනෝ විඤ්ඤාණය හට ගන්නෙ. ඒ සමගම ඒක ක්‍ෂණයකින් වැනසෙනවා, භංග වෙනවා. මෙතනට ස්කන්ධ සංස්ථිති නියමය ගාවගෙන, වැනසුන මනෝ විඤ්ඤාණයේ කොටස් කොහේ හෝ භෞතිකව තිබිය යුතුයි කියන තර්කය ගේන්නෙ කොහොමද? **ගිනි පෙනෙල්ලක් කරකැවීම නිසා ගිනි වළල්ලක් පේනවා. කරකැවීම නවතින කොට ගිනි වළල්ලත් නැති වෙනවා. දැන් අර දකින්න තිබ්බ්ච ගිනි වළල්ල ස්කන්ධ සංස්ථිති නියමය අනුව කොහේ ගියාද? මායා දර්ශනය නිසා ගිනි වළල්ලක් දැක්ක මිසක් හටගත්තු දෙයක් නෑ. තේජෝ (ගින්දර) රූප කලාප නම් විශ්වයට එකතු වෙනවා, විපරිණාම වෙනවා. ඒ හැර ගිනි වළල්ලේ තවත් දෙයක් තිබුණද?**

මනෝ තලයේ ධර්ම ගැටෙන කොට, ඒ ගැටෙන මොහොතේ ප්‍රතිඵලය විදිහට මනෝ විඤ්ඤාණය හට ගන්නවා. හරියට බෙර ඇසට කෝටුවෙන් තට්ටු කරන කොට බෙර හඬ නැගෙනව වගෙයි. ඒ වගේම විඤ්ඤාණය, රූපයන්ගේ මූල ධාතු කියල කියනව නම් ඒවාටත් විශ්වයේ ස්කන්ධ මාත්‍රයක් දරන ඉඩ ප්‍රමාණයක් තියෙන්න ඕන. එතකොට අති සියුම් නුවණකින් හෝ ඒ ස්කන්ධ ඇති තැනක් ලෝක තලයේ හෝ විශ්වයේ කොතැනක හෝ පෙන්වන්න පුළුවන් වෙන්න ඕන. යමෙක් එවැන්නක් අහවල් තැන තියෙන බවට නුවණකින් දකින බව හෝ පරමානුවල මූල ධාතු වෙන් කරන්න පුළුවන් බව ප්‍රත්‍යක්ෂ නුවණකින් දැකල තියේ නම්, ඒ අය ඊට වඩා දහස් ගණනකින් ලොකු විය යුතු වායු පරමාණුත් දැකල තියෙන්න ඕන. එහෙනම් තමන් දකින්නෙ මනෝ විකාරයක්ද, නැත්නම් සත්‍යයක්ද කියල පරීක්‍ෂණයකින් පරීක්ෂා කරල බලල තීරණය කරන්න ඕන. ඒ පරීක්‍ෂණය මේ විදිහට කරන්න පුළුවන්.

විද්‍යාගාරයකට ගිහින් කුඩා කුප්පි කිහිපයකට ඔක්සිජන්, නයිට්‍රජන්, කාබන්ඩයොක්සයිඩ් වගේ වායු වර්ග පුරවල වාතය පිට නොවෙන්න ඇබ ගසා ගන්න. ඒ කුප්පි බාහිර ලකුණකින් වෙන් වෙන්ව හඳුන ගන්න ඉඩ තියන්නෙ නැතිව හදාගෙන, ඒවායේ තියෙන වායු වර්ග මනසින් (අධි මානසික බලයකින්) වෙන් කර ගන්න ස්ථිරව පුළුවන්ද කියල බලන්න. මේක ලෞකික පරීක්ෂණවලින් නෙවෙයි, අධ්‍යාත්මික මානසික පරීක්ෂණයකින් කරල බලල ඇත්ත වශයෙන්ම එහෙම කරන්න පුළුවන් නම්, විද්‍යාඥයන්



කියන පරමානුවත් දකින්න පුළුවන් වෙන්න ඕන.

ලොව්තුරා බුදුන් වහන්සේලා සර්වඥතා ඥානයෙන් ප්‍රකාශ කරපු ලෝක විෂය ගැන, මේ අති සූක්ෂම රූප කලාප ගැන, කවුරුන් විසින් අධ්‍යාත්මිකව දකින්නද? කොහොම නමුත් එක දෙයක් නම් තේරුම් ගන්න පුළුවන්. ඒ තමයි චතුරාර්ය සත්‍යය දකින්න ඒවා ගැන නොසෙව්වත් පුළුවන් බව. සෝතාපන්න වෙච්ච අරූපාවචර බ්‍රහ්මයන්ට, ඉතිරි මාර්ග ඵල සිත් පහල වන බවත් ධර්මයේ සඳහන් වෙනවා. කෙබඳු හෝ සිතක් පහළ වෙනව නම් සර්ව චිත්ත සාධාරණ චෛතසික හතක් ඒ සමග පහල වන බව චිත්ත නියාමයක්. මේ චෛතසික, රූප කලාපවල ධාතු මූල නම් අරූප බඹ ලොවක් ඇතිවෙන්න බෑ. මොකද එහෙනම් ඒකට රූප බඹ ලොව කියල කියනව මිසක් අරූප බඹ ලොව කියල කියන්නෙ නෑ. නමුත් රූපයකින් තොරව වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ පහළ වෙන්නෙ නෑ කියන්නෙ බුද්ධ දේශනාවක්. හැබැයි මේ අරූප කියල නමක් හදාගත්තෙ ඒවා පේන්නෙ නැති නිසා, පේන්න තියෙන හැඩයක් නැති නිසා. පේන්නෙ නැති වුණාට ඒවත් රූපම තමයි. අටවිසි රූපවලට අයිතියි. අනිත් කරුණ තමයි මේ රූප හා අරූප බව වෙන් කරපු ධාතු නියාමය තියෙන තැන කොතැනද? හයිඩ්‍රජන්, ඔක්සිජන් ආදී වායූන්ගේ අති සූක්ෂම රූප කලාපයට යනකල් රූප කොටසට ගැනෙන බව කියනවා. නැවතත් ඉන් එහාට බිඳල බලන කොට ශක්ති කොටසට වැටෙන බවත් කියන්නෙ ලෝක සම්මත ඒ විද්‍යාඥයන්මයි.

නොකැඩෙන, නොබිඳෙන පරම සූක්ෂම වස්තුව හෙවත් පරමාණුව අපි සොයා ගත්තයි කියපු අයම වසර 20 ක් පමණ ඒ සම්මතයේ ඉඳල, පසුව විද්‍යාගාරයක කරපු පරීක්ෂණයකින් ඒක එහෙම නොවන බවත් පරමාණුව බිඳෙන බවත් සාක්ෂි සහිතව ඔප්පු කළාට පස්සෙ, කලින් හිතාගෙන හිටපු රූප කොටස පරමාණුව නොවන බවත් ඒක ඊට වඩා අති සියුම් විය යුතු බවත් නිගමනය කළා. මේ කියපු පරමාණුව බිඳිනකොට ඉලෙක්ට්‍රෝන, ප්‍රෝටෝන, නියුට්‍රෝන ආදී කොටස් ශක්ති විදිහටත්, ඊට වඩා සියුම් කොටස් කිරණ වර්ග විදිහට හෙවත් ලේසර්, පාරජම්බුල, ඇක්ස්රේ කිරණ ආදී අති සියුම් ශක්ති බවට පත් වූ දේ වශයෙනුත් මුල්ම අවධියේ වෙන්කරල සොයා ගත්තා. සමහරු අලුත් මතයකට අනුව මේවා අරූප හෙවත් වේදනා, සංඥා ආදිය විදිහටත් පෙන්වනවා. නමුත් ඇසේ ගැටෙන්නෙ අරූප නෙවෙයි රූප බව පිළිගන්නවා. හිරු එළිය කියන්නෙ මේ කියන කිරණ මිසක් රූප කලාප කියල නිගමනය කරපු පරමාණුව හෝ ඉන් ලොකු දෙයක් නෙවෙයි, ඒ නව මත දරන උදවියම ශක්තිය කියල කියපු දේමයි. නමුත් ඒ අය ඒ ශක්තිය කියල හඳුන්වපු ආලෝක කිරණ ඇසට ගැටෙන කොට නැවත රූප කලාප කියලත්

පිළිගන්නවා. නමුත් ඒක සත්‍යයක් නෙවෙයි. හැබැයි නවීන විද්‍යාවෙන් ආලෝකය ශක්ති විශේෂයක් හා පදාර්ථයක් කියල පිළිගන්නවා (ආලෝකයේ ද්විත්ව ස්වභාවය).

''චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං'' කියන බුදු වදනිනුත් ඇසේ රූප ගැටීමෙන් චක්ඛු විඤ්ඤාණය පහල වන බව දේශනා කරල තියෙනවා. ආලෝකය ලෝක සම්මත පරමානුවට වඩා අති සියුම් කිරණ ශක්තියක් බව පිළිගෙන තියෙද්දිත්, පරමානු මූල ධාතු ඒ කිරණ කියල පිළිගෙන තියෙද්දිත්, ඇස කරා චක්ඛු විඤ්ඤාණ පහල කරන්න ඇසේ ගැටෙන ඒ කිරණවලට බුදු රජාණන් වහන්සේ රූප කියන නම පෙන්වා තියෙද්දිත්, ඒවා නොපෙනුණ පලියට, ශක්තියක් විදිහට විද්‍යාඥයන් හඳුන්වපු පලියට ඒවා රූප කොටස් කියල පිළිගන්නෙ නැත්ද? බුද්ධ භාසිතය අනුව නම් ඒවා රූප කියල පිළිගත යුතු බව ඉහත කරුණුවලින් වැටහෙනවා.

සිත පිළිබඳ ධර්මයෝ රූප පිළිබඳව සංසන්දනය කරල තේරුම් ගන්න බෑ. **අපි නිදා ගෙන ඉන්න කොට හීනෙන් රූප පේනවා. ඉර පායන ලෝකයක්, ගස් ගල් තියෙන ලෝකයක්, මෙලොව ජීවත්වන අය, නොයෙක් සත්තු, අපි පදිංචි ගේදොර... ආදී බොහෝ දේ අඩුපාඩුවක් නැතිව අපට ඒ හීන ලෝකයෙදි පේනවා. වේදනා, සංඥා ආදිය තුළ රූප මූල ස්කන්ධ තියේනම්, මේ සිහින ලෝකයත් විශ්වගතව කොහේහරි තියෙන්න ඕන. ඒ වගේම හැම කෙනකුටම මේ විශ්වයේ හීන ලෝකයක් බැගින් තියෙන්න ඕන. එතකොට ඒ විදිහට තියෙන තැන් පෙන්වන්නත් සිද්ධ වෙනවා. ඒ නිසා නාම ධර්ම සිත හා සම්බන්ධ දැනීම් මගක් බවත්, ඒක මේ විශ්වයේ රූපවලින් වෙනස් වූ මනෝ ධර්මයක් බවත් වටහ ගන්න ඕන.**

ඒ වගේම මේ ගැනත් විමසා බැලීම සුදුසුයි. සත්ත්වයා තුළ කර්ම (සිත, කය, වචනයන්ගේ ක්‍රියාත්මක වීම), ධර්ම (ලෝකයේ යමක් යම් සේ දරා සිටින ආකාරය), ආරම්මන (ආපු දේ රමණය කිරීම), විපාක (විශේෂයෙන් පැසී ගිය) වශයෙන් කොටස් හතරක් සුදුසු විදිහට උපදිනවා. හිත සම්බන්ධ ඉපදීම්, කය සම්බන්ධ ඉපදීම්, ඉපදීම් ඇති කරන ශක්ති යනාදී වශයෙන් දැන ගන්න පුළුවන් බව විමසා බලනකොට පේනවා. මෙයින් පින්, පව් වශයෙන් ක්‍රියාත්මක වන ක්‍රියාවලදි පින් පව් සිත් උපදිනවා. මේ පින් කිව්වෙ පිනවීමට හේතුකාරක වන දේවල්. පිනවීමට හේතු දකින්න ඕන. කරන කටයුත්ත යහපතක් නම් ඒක පින් හෙවත් පිනවීමට හේතු කාරකයක්. හැබැයි කාමය වගේ මුළාවෙන් කරන පිනවීම් කටයුතු මේකට අයිති නෑ. ''පා'' කියන්නෙ පහත් තැන. ''ආප'' කියන්නෙ ඇලුම් කරනවා කියන එක. පහත් තැන්වලට ඇලුම් කිරීම නිසා පාප ඇති වෙනවා. ඒ වගේම කුසල්, අකුසල් වශයෙන් යෙදෙන කොට කුසල්, අකුසල් සිත් උපදිනවා. (''කු'' කියන පහත් දේවල් සලාහැරීම කුසල් වෙනවා) මේ සිත් උපදින කොට ක්ෂණයකින් ගෙවිල යනවා. ඒ සිත්වලින් පහල කරන ශක්තිය, කර්ම ශක්තිය වශයෙන් ධර්ම නමින් ද්‍රව්‍ය වස්තු සුදුසු වෙලාවලදි ක්‍රියාත්මක කරවන්න පුළුවන් ශක්තියක් විදිහට පත්වෙලා කර්ම භවයේ තැන්පත් වෙනවා. මේ ශක්තිය සමහර අවස්ථාවල ඉතා මෑතදීම රූපයන් සමග ක්‍රියාත්මක වෙනවා. මේ විදිහට විපාක සිත් සහ ලෝක ධර්මතා ක්‍රියාවලියත් හට ගන්න හේතු වෙනවා. ඒ වගේම සමහර ශක්තීන් වසර දහය, සියය, දහස් ගණන්, ලක්ෂ ගණන් හෝ කල්ප කෝටි ශත සහශ්‍ර ගණනකට පසුවත් ක්‍රියාත්මක වන බව ධර්මයේ සඳහන් වෙනවා.

ඒ විතරක් නෙවෙයි විශ්ව නිර්මාණය, සත්ව ශරීර පහලවීම, සැප, දුක්, මධ්‍යස්ථ වේදනා දෙන විදිහට ලෝක ස්වභාවය හට ගැනීම ආදියටත් හේතු ඇති කරනවා. සාමාන්‍ය ඍෂි මනසකින් (අධි මනසකින්) මේ ක්‍රියාවලියේ ආකාර දැකල, මෙබඳු කර්ම ශක්තියක් පහල කරපු දේ කියලත් තේරුම් ගන්න පුළුවන්. ලොව්තුරා බුදුවරයන්ගේ අනාවරණ ඥානයට, මේ කාලයේ මේ විදිහට මේ ආකාර විපාක ගෙන දෙනව කියල දකින්නත් පුළුවන් බව ධර්මයේ සඳහන් වෙනවා. සාමාන්‍ය අධි මනසකටවත් කර්ම ශක්තිය ක්‍රියාවට නැගෙන ආකාරය පූර්ණ වශයෙන් දැනෙන්නෙ නෑ. මොකද කර්ම විෂය අචින්ත්‍ය නිසා. ඒක ලොව්තුරා බුදුන් වහන්සේගෙ සර්වඥතා ඥානයට විතරයි හරියටම ගෝචර වෙන්නෙ. ඊට මෙහා ඉන්න අයගෙ අධි මනසකට වුනත් අනුමාන ඥානයෙන් ගෝචර වෙනව මිසක් ප්‍රත්‍යක්ෂ ඥානයෙන් ගෝචර වෙන්නෙ නෑ.

**සිදුහත් කුමාරයට නම් තැබීම, මහාමායා - සුද්ධෝදන ආදී එතුමාගේ මවුපියන්ට නම් තැබීම ආදිය, මෙබඳු කර්ම ශක්තිය අනුව මේ නම මොහුට හිමිය කියල දැනගෙන නෙවෙයි, එදා විද්‍යමාන වෙච්ච ස්වභාවය ගැන හිතල තබපු නම් විදිහටයි පේන්නෙ. නමුත් දීපංකර බුදුන් වහන්සේ පළමු විවරණය දෙන කොට, මෙයින් සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයකට මත්තෙන් මේ නමින් මෙබඳු ගෝත්‍රයක, මෙබඳු නම් ඇති මවුපියන්ට දාව පශ්චිම අත්බවය ලබල මේ නමින් ලොව්තුරා බුදු වෙනව කියන විවරණය දුන් බව සඳහන් වෙනවා. කර්ම ශක්තිය විපාක දෙනකල් නොදිරා ක්‍රියාත්මක වන ආකාරයත්, අතරමග ක්‍රියාත්මක නොවී නියම කාලයේදිම ක්‍රියාත්මක වන හැටිත්, ලෝකයේ මනුස්සයින් නිදහසේ තමන් කැමති විදිහට හිතනව කිව්වත්, කර්ම ශක්තිය අනුව හැඩගැසෙන ධර්මයෝ මනායතනයේ ගැටිල පහල කරන විඤ්ඤාණ අනුව ක්‍රියා සිදුවෙන ආකාරයත්, අපි දැනගෙන නොසිටියට කර්ම ශක්තියේ ක්‍රියාවලියට ඒක බාධාවක් නොවන බවත් මෙයින් පැහැදිලි වෙනවා.**

ඒ වුනාට අපි කර්ම ශක්තියේ වහලෙකුත් නෙවෙයි. පෙර කරපු කර්මයකට අනුව අපේ මනසට ධර්ම ගට්ටනය වෙලා අදහසක් ආවම, ඒ අනුව කටයුතු කරනවද නැත්ද කියල, ඒ කියන්නෙ ඒ ආපු මනෝ විඤ්ඤාණය අනුව අලුතින් සංඛාරයක් කරනවද නැත්ද කියල තීරණය කරන්නෙ අපිමයි. ඒ ඒ මොහොතෙ ගොඩනගන අවිද්‍යාව අනුව තමයි අපි ඒක තීරණය කරන්නෙ. විද්‍යාව පහල වෙලා තිබුණනම් විපාක විඤ්ඤාණය ගොඩනගල දුන්නත් අපි තීරණය කරන්නෙ ප්‍රඥාවෙන්.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 54**

# සසරක හැටි ! මේ ආත්බවේ පියා මේ ආත්බවේම මුණුබුරා වෙයි...

*(පසුගිය කලාපයෙන් - සමාධි බලයෙන් කළ විස්මිත ප්‍රතිකාර...)*



**- වහරක අභයරතනාලංකාර හිමි**

මරණය සහ උපත ගැන උදාහරණ උපමා සහිතව සත්‍ය සිදුවීම් ඇසුරින් කෙරුණු හෙළිදරව් කිරීම් මේ සඟරාවේ මීට පෙරත් බොහෝ අවස්ථාවල ඉදිරිපත් කරල තියෙනවා. අද සමාජයේ බොහොමයක් උදවිය, ඇහැට පේන්න තියෙන නිසා මරණය විස්වාස කළත්, මැරිච්ච අය නැවත ඉපදීමක් ගැන විස්වාස කරනව අඩුයි. ඒ ගැන සැක සහිතව තමයි බොහොමයක් අය විස්වාස කරන්න පුරුදු වෙලා තියෙන්නෙ. විශේෂයෙන් ලෝක සම්මත සමහර බෞද්ධයො පවා, ඇත්තටම මැරුණට පස්සෙ නැවත ඉපදෙනවද කියල අහන්න තරම් නැණ නුවණින් අඩු මට්ටමක ඉන්නෙ. හැබැයි ඒ බොහොමයක් අය ලෝක සම්මතයේ නම් මහ උගත්තු. මේ වෙනකොට සමාජයේ පැතිරිලා තියෙන භෞතිකවාදී අදහස් නිසාත්, මරණයත් උපතත් අතර ක්‍රියාවලිය මස් ලේ ඇහැට පේන්නෙ නැති නිසාත්, මේ මරණයේ සහ උපතේ තියෙන භයානකත්වය ගැන ඒ තරම් විස්වාස කරන්නෙ නෑ. මෙතනින් මළාම ඔක්කොම ඉවරයි කියල තමයි සමහරු හිතාගෙන ඉන්නෙ.

හැබැයි පසුගිය කාලයේ බටහිර ලෝකයේ හිටපු එඩ්ගා කේසි වගේ දිව්‍යසිවරු නිසාත්, මේ වෙනකොට බටහිර විද්‍යාවෙන් මේ ගැන කෙරෙන පර්යේෂණ වැඩි වෙලා තියෙන නිසාත්, විශේෂයෙන් මෝහනය වගේ ක්‍රමවලින් ඇතැම් අයගෙ පෙර අත්බැව්වල සිද්ධි සාක්ෂි සහිතව නැවත හෙළිදරව් කර ගැනීමත් නිසා, මරණින් පසු උපතක් තියෙනව කියන කාරණය වර්තමානයේ මිනිස්සුන්ට යම් පමණකට ඒත්තු ගන්වන්න පුළුවන් වෙලා තියෙනවා. නමුත් ඇතැම් උදවිය ඒ කාරණාවත් ඒ තරම් පිළිනොගන්න හේතුවක් තමයි, හැම කෙනෙක්ම මෝහනයට පත් කරල ඒ වගේ පෙර අත්බැව්වල සිද්ධි හෙළිදරව් කරගන්න නොහැකි වීමත්, බොහෝකොටම මනුස්ස අත්බැව්වලට අමතරව දේව බ්‍රහ්ම හෝ තිරිසන්ගත උප්පත්ති ගැන ප්‍රකාශ නොකිරීමත් කියන කාරණා. ඒ වගේම, කෙනෙක් මළාට පසු නැවත ඉපදීමක් සිදුවුනොත් විතරක් පෙර අත්බැව්වල කරුණු හෙළිදරව් කරගන්නවා හැර, කෙනෙක් මියයන්න පෙර හෝ මියගිය පසු නැවත උපදින තැන්, ගති ලක්ෂණ ආදිය හෙළිදරව් කරන්න නූතන විද්‍යාවට නොහැකි වීමත් මේ කාරණය සමහර උදවිය විස්වාස නොකරන්න හේතුවක් වෙලා තියෙනවා.

නමුත් මීට අවුරුදු දහස් ගණනකට පෙර දිව්‍යසකින්, සමාධියකින් දැකලත් ඒ වගේ කාරණා හෙළිදරව් කරන්න පුළුවන් අධ්‍යාත්මික ශක්තිය වඩපු අය සමාජයේ ඉඳල තියෙන බව දහම් පොත් පත්වල ඕනෑ තරම් සඳහන් වෙනවා. ඒ කාලයේ හිටපු වංගීස කියන බමුණා, මියගිය කෙනෙක්ගෙ හිස් කබලට තට්ටු කරල ඉපදිච්ච ස්ථානය කියන්න තරම් දක්ෂ වෙලා තියෙනවා. ඒ කාරණය බුදුන් වහන්සේත් අනුමත කරල තියෙනවා. නමුත් එදා තිබිච්ච ඒ ක්‍රමවේද, අධ්‍යාත්මික ශක්තිය වඩාගන්න ක්‍රම, අද වෙනකොට බොහෝ කොටම යටපත් වෙලා තියෙන නිසා ඒ වගේ හැකියාවන් තියෙන අය ගැන අහන්න ලැබෙනව බොහොම අඩුයි. මේ නිසා නැවත ඉපදීමක් ගැන විස්වාස කරන උදවිය පවා තමන්ගෙ මියගිය ඥාතීන් ඉන්න තත්වය බලාගන්නෙ බොහෝ කොටම විවිධ පේන, සාස්ත්‍ර, අඳුන් වගේ ක්‍රමවලින්. නමුත් ඉතින් ඒ වගේ කටයුතු කරන උදවියත් බොහෝකොටම තුන්වන පාර්ශවයක් (භූත අමනුස්ස ආදී) හරහා කරුණු ගන්න නිසා ඒ කියන තොරතුරුවල සත්‍ය අසත්‍යතාව කොච්චර දුරට නිවැරදිද කියල දැනගන්න පුළුවන්කමක් නෑ.

හැබැයි මේ බුදු දහමේ පෙන්වා තියෙන ධ්‍යාන, සමාධි ආදී ක්‍රමවේද තුළින් අධ්‍යාත්මික ශක්තිය වඩාගත් කෙනෙකුට ඒ වගේ විශේෂ හැකියාවන් ලබන්න පුළුවන්. ඒ වගේ ක්‍රමවේද තුළින් යමෙකුගේ මරණින් මතු උප්පත්තිය කෙබඳුද, ගති ලක්ෂණ කෙබඳුද ආදී කරුණු කාරණා කල් තියා ප්‍රකාශ කරන්න පුළුවන් නම්, ඒ මියගිය කෙනාගෙ නැවත උප්පත්තියත් සමග ඒ කරුණුවල සත්‍ය අසත්‍යතාවය තහවුරු කරගන්න පුළුවන්කම ලැබෙනවා. අන්න ඒ වගේ ක්‍රමයකින් මේ කාරණය අද වගේ කාලයක ඔප්පු කරන්න පුළුවන්කම ලැබුණොත්, මේ භෞතික මතවාදවල හිර වෙලා ඉන්න අයගෙ ඒ වැරදි මතවාද බිඳින්නත්, මේ සසරේ භයානකත්වය යම් පමණකට හරි අවබෝධ කරල දෙන්නත් බොහෝ කොට උපකාරී වෙනවා. වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක ඉන්න කොට ලබපු ඒ වගේ එක් සත්‍ය අත්දැකීමක් තමයි මේ විස්තර කරන්නෙ.

මේ සිද්ධිය සිද්ධ වුනේ මම ගිහි කාලෙ සාසනික කටයුතු මුල් කරගෙන ඖෂධ ප්‍රතිකාර ඇතුළු සෙත් ශාන්ති කටයුතු කරමින් දඩගමුව ප්‍රදේශයේ ☞

ඉන්න කාලයේ. ඒ 1994 වර්ෂයේ. පසුකාලීනව මේ සාසනික කටයුතුවලට මහත් උනන්දුවෙන් කැපවීමෙන් අපිත් එක්ක සම්බන්ධ වෙච්ච මහත්තයෙක් තමයි මේ සිද්ධියට මුල් වුනේ. මේ කාලෙ වෙනකොට ඒ මහත්තය මාව දන හඳුනගෙන හිටියෙ නෑ. මාත් එක්ක ළඟින් ආශ්‍රය කරපු තවත් උපාසක මහත්තයෙක් මගින් තමයි ඔහු මාව හමුවෙන්න ආවෙ. ඒ ඔහුගේ පියාගේ රෝගී තත්වයක් සම්බන්ධයෙන්. ඒ කාලෙ වෙනකොට ඔහුගෙ පියාගෙ වයස අවුරුදු 72 යි. ඔහු වෘත්තිය වශයෙන් කළේ වඩු වැඩ. ඊට අමතරව ගොවිතැන් බතුත් කළා. දරුවො 7 දෙනෙක් හිටියා. ගැහැණු දරුවො 4 යි, පිරිමි දරුවො 3 යි. ඒ අයගෙන් බොහොමයක් අය විවාහ වෙලා දරුවොත් ලබල හිටියෙ. ඉතින් ඔහු මේ කාලය වෙනකොට වඩු වැඩ නවත්වල ටිකක් අසනීප ගතියකින් ඉඳල තිබුනෙ. අන්තිමට ඔහු බණ දහම් පොත්පත් කියවන්නත් පුරුදු වෙලා තිබුණා. දවසක් ඔහු උදේ මුහුණ හෝදන්න යනකොට උළුවස්සෙ අත වැදිල, තමන්ගෙ බිරිඳට ඒ බව පවසල ඇඳේ දිගාවෙලා තියෙනවා. ඒ වෙනකොට ඒ පවුලේ වැඩ කටයුතු ප්‍රධාන වශයෙන් කරට අරගෙන කළේ, පසුකාලීනව අපිත් එක්ක සම්බන්ධ වෙච්ච අර මුලින් කියපු ඔහුගෙ පුතා. පවුලේ අනෙක් අය ගොවිතැන් බත් කරන අතරෙ ඔහු පෙදරේරු වැඩ තමයි ප්‍රධාන වශයෙන් රස්සාව විදිහට කළේ.

ඔහු ඒ වෙනකොට ඒ ප්‍රදේශයේ පන්සලක වැඩ කටයුත්තකට ගිය අතරෙ තමයි මේ සිද්ධිය වෙලා තියෙන්නෙ. ඉතින් පණිවිඩ මගින් දන ගන්න ලැබිල ඔහු ඇවිත් වාහනයක් අරගෙන තාත්තව රෝහලට ගෙනියන්න හැදුවම, එපා ඕන නෑ කියල තාත්ත කියල තියෙනවා. නෑ බෙහෙත් ටිකක් ගන්න යමු කියල හොඳට කතා කර කර ගිහින් පොල්ගහවෙල රෝහලට ඇතුළත් කළාට පස්සෙ පැත්තක් පණ නැතිව ගියා. ඊට පස්සෙ එතනින් කුරුණෑගල රෝහලට ඇතුළත් කරල නාහෙන් බට දාල, මුත්‍රාවලට වෙනම බට දාල එක දිගට දින 7 ක් හිටියා. ඒ වෙනකොට ඔහුට කතා කරන්නත් බෑ. එක අතකුයි කකුලකුයි ඉස්සෙනව එච්චරයි. නාහෙට දාල තිබ්බ බටය ළඟට අත ගෙනල්ල ගලවන්න උත්සාහ කරන නිසා, එළිවෙනකල් මාරුවෙන් මාරුවට පවුලෙ කවුරු හරි දරුවෙක් අත අල්ලගෙන තමයි ඉඳල තියෙන්නෙ. අත බැඳල තියමු කියල රෝහලෙන් යෝජනා කළත්, ඒ පවුලෙ දරුවො සෑහෙන හිටපු නිසාත්, ඒ අය අතර හොඳ සමගියක් තිබ්බ නිසාත්, නෑ අවශ්‍ය නෑ අපි ඉන්නවනෙ කියල ඒ අය කියල තිබුණා. ඔහොම දවස් 7 ක් ඉඳල ප්‍රතිඵලයක් නැති නිසා ඒ රෝහලෙන් පිට කරල නැවතත් පොල්ගහවෙල රෝහලට මාරු කරල තිබුණා. ඒ වෙනකොට ලෙඩාව ගොඩගන්න බෑ කියල වෛද්‍යවරු අතහැරල දාල තිබ්බ නිසයි එහෙම කරල තියෙන්නෙ.

ඊළඟ දවසෙදි අපිත් එක්ක ළඟින් වැඩ කරපු උපාසක මහත්තයෙක් මේ අයගෙ ගෙදර ගිහින්, මෙහෙම කෙනෙක් ඉන්නව කියල මම ගැන විස්තරයක් කියල තිබුණා. දඩගමුව කියන ප්‍රදේශයේ තැනක තමයි ඒ මහත්තය ඉන්නෙ, ආගමට දහමට මුල් තැන දීල තමයි ඒ බෙත් හේත් කටයුතු කරන්නෙ, එහෙම නැතිව ආවට ගියාට බෙත් දෙන වෙද මහත්තයෙක් නෙවෙයි, බුද්ධ පූජා ආදී වැඩසටහන් කරල පුණ්‍යානුමෝදනාවකුත් කරල තමයි බෙත් දෙන්නෙ... මේ ආදී වශයෙන් මම ගැන විස්තර කියල තිබුණා. එතකොට අර මහත්තයත්, එහෙනම් හෙට උදෙන්ම යමු කියල කැමති වෙලා පහුවදා උදේ පාන්දරින්ම මාව හමු වෙන්න ආවා. ඒ දවස්වල ඉතින් අද තරම් ලොකුවට භෞතික සම්පත් තිබුණෙ නැති නිසා පොල් අතු මඩුවක තමයි මම ඒ කටයුතු කරගෙන ගියේ. එදා බෙත් ගන්න 25-30 ක් විතර සෙනග ඇවිත් හිටියා. ආශිර්වාද පූජාවට සහභාගි වුනාට පස්සෙ, ආපු පිළිවෙලට සමාධි ක්‍රමයකට යොමු කරල බලල තමයි හැමෝටම බෙහෙත් නියම කළේ.


පෙර අත්බවය

ඉතින් මම ඒ වෙලාවෙ එතැන හිටපු අනිත් පිරිසට කිව්වා, මාරාන්තික ලෙඩෙක් සම්බන්ධයෙන් අත්‍යවශ්‍ය කාරණයක් දන ගන්න මෙන්න මෙහෙම දුර බැහැර කෙනෙක් ඇවිත් ඉන්නවා, ඒ නිසා අනිත් අය මුකුත් හිතන්න එපා කියල. මොකද නැත්නම් අනික් පිරිස කලින්ම ඇවිත් බලාගෙන හිටපු නිසා කියයි, එක්කෙනෙකුට විතරක් විශේෂයෙන් සැලකුව කියල. ඉතිං එහෙම කියල ඒ මහත්තයට මම පළවෙනි අවස්ථාව ලබා දුන්නා. එතකොට හැම කෙනෙක්ම බොහොම හික්මිලා සංවරත්වයෙන් කටයුතු කළා. ඒ ගැන මොනවත් විරුද්ධව කියන්න ආවෙ නෑ. මොකද බුද්ධ පූජා ආදී සාසනික කටයුතුවලට සම්බන්ධ වෙලා වටේ ඉන්න පිරිසත් ධර්මානුකූල ක්‍රමයකට හැදිච්ච වටපිටාවක් එදත් තිබුණා.

ඉතින් මම ඒ මහත්තයගෙන් ඇහුවා, මහත්තයගෙ ප්‍රශ්ණෙ මොකක්ද කියල. මොකද ඒ වෙනකොට ඔහුගෙ පියාගෙ අසනීප තත්වය ගැන හෝ ඒ පවුලෙ විස්තර ගැන අර කලින් කියපු කරුණු එකක්වත් මම දනගෙන හිටියෙ නෑ. ඒවා පසුව දනගත්තු කරුණු. ඉතිං අපේ තාත්ත ලෙඩ වෙලා කියල ඔහු කිව්වා. මම නමයි, ලිපිනයයි අහල සමාධියට යොමු කරල බලල ඇහුවා, දන් ඉස්පිරිතාලෙ නේද ඉන්නෙ බටයක් දාල නේද තියෙන්නෙ කියල. ඔව් කිව්වා. මම කිව්වා මේ බටය ගැලවෙන්න පුළුවන්, ලෙඩා වැට උඩ ඉන්නෙ කියල. දින 15 ක් යනකල් මේක නොගැලවී පරෙස්සම් කර ගත්තොත් මම මේ ලෙඩාව ගොඩ දානව කියලත් කිව්වා. එතකොට ඔහුගෙ ඇස් දෙකෙන් කඳුලු වැටුණා. මොකද මේ වෛද්‍යවරුත් සනීප කරන්න බෑ කියල අයින් කරල දාල, කුරුණෑගලින් පොල්ගහවෙල රෝහලට ගෙනත් තියෙන්නෙ හදිසියේ මළත් ඒ වැඩ කටයුතු ටික පහසුවෙන් කරගන්න ගෙදර ළඟ නිසා. ඒ වෙනකොටත්

බට දාල දියර ආහාර විතරයි ලෙඩාට දීල තිබුණෙ. ඊට පස්සෙ මම කිව්වා, මම යන්ත්‍රයක් හදල දෙන්නම් හැබැයි දින 15 ක් යනවා ඒක ජීවම් කරන්න, ඒ දින 15 ඇතුළත ආපදාවක් වුනේ නැත්නම් අනිවාර්යෙන්ම මේ ලෙඩා බේරෙනවයි කියල. එහෙම කියල ජීවම් කරපු විශේෂ තෙල් ටිකක් කුප්පියකට දාල දුන්නා, මේකෙන් බිංදු 2 ක් විතර පපුවෙ ගාල උඩු අතට අතුල්ලල ඉස් මුදුනටත් දාන්න එතකොට වෙනසක් වෙයි කියල. එහෙම වෙනසක් වෙනව කියල බලා ගන්නම තමයි ඒ තෙල් ටික දුන්නෙත්.

ඊට පස්සෙ ඒ මහත්තය ගෙදර ගිහින් ගෙදර පිරිසටත් මේ සිද්ධිය කියල, එදාම හවස රෝහලට ගිහින් අර ලෙඩාගෙ පපුවෙ තෙල් බිංදු 2 ක් ගාල පිරිමැදල ඉස්මුදුනටත් දාල ටික වෙලාවක් හිටියා. ඒ වෙලාවෙ එතන හිටපු ලෙඩාගෙ ඥාති මුණුබුරෙක්, අත්තෙ කියල කතා කළාම හොඳට හුස්මක් එහෙම අරගෙන අතත් හොල්ලල ඇහ්... කියල කිව්වලු. දැන් මේ දවස් 7 කටත් පස්සෙ තමයි පළමු වතාවට ලෙඩා වචනයක් කතා කළේ. හැබැයි එච්චරයි. නැවතත් අර හිටපු තත්වයටම වැටුණා. මේ දින 15 පරෙස්සම් කර ගත්තොත් ලෙඩා ගොඩ දාන්න පුළුවන් කියන විස්වාසය ඇති කරන්න තමයි අර විදිහට තෙල් ටිකක් දාන්න දුන්නෙ. ඒකත් නිකම්ම කියවුනේ නෑ, සමාධියට යොමු වුනා, එහෙම පුළුවන් තත්වයක් තියෙනව කියල. හැබැයි අර දින 15 පන්න ගත්තොත් විතරයි.

දැන් එතනින් පස්සෙ දින 8,9,10 ආදී වශයෙන් ගියා. 10 වෙනි දවස වෙන කොට ඒ මහත්තයගෙ තවත් සහෝද-රයෙක් (ලෙඩාගෙ පුතෙක්) එක දිගට දින 3 ක් ලෙඩා ළඟ නිදිමරල හිටියෙ. මොකද අනිත් අයත් ඉතිං විවිධ වැඩ කටයුතු නිසා පුළුවන් විදිහට මාරුවෙන් මාරුවට තමයි ලෙඩා බලාගෙන තියෙන්නෙ. ඉතින් දවසෙ පැය 24 ම කවුරු හරි ළඟ ඉන්න ඕන. 10 වෙනි දවසෙ රෑ මොකද වෙලා තියෙන්නෙ, දින 3 ක් එක දිගට නිදිමරල මහන්සි නිසා, ලෙඩාගෙ අතත් අල්ලගෙනම අර සහෝදරයට හිටගෙනම නින්ද ගියා. ලෙඩා ඒ ටිකට අත අරගෙන බටේ ගැලවුනා. පහුවදා අනිත් සහෝදරයා යන කොට තමයි දැනගෙන තියෙන්නෙ මෙහෙම සිද්ධියක් වෙලා කියල. ඉතිං වෛද්‍යවරුයි, හෙද නිළධාරියොයි එකතු වෙලා බටය නැවත දාන්න සෑහෙන උත්සාහ කරල තිබුණත්, ලෙඩා දඟලල දාන්න බැරි වෙලා තිබුණා. බටේ ගැලවිලා තිබ්බ්ච නිසා දැන් ඉතින් ලෙඩා බොහොම අවදානම් තත්වයක ඉන්නෙ. ඒ නිසා සේලයින් 1 ක් දීල බටේ අයින් කරල තිබුණා. ඔය විදිහට පැය 1/2 ක් විතර ගිහින් එහෙම්ම මළා. දවස් 15 පන්නන්න බැරි වුණා. දවස් 10 න් ලෙඩා මළා.

මේ අය ඉතින් මරණෙ අවසන් කටයුතු ඔක්කොම කරල දවස් 7 කට විතර පස්සෙ නැවතත් මාව මුණගැහෙන්න දඩගමුවට ආවා. මාත් එක්ක ලෙඩා නැති වුණයි කියල විස්තරය කියද්දි, මම කිව්වා ඒක එහෙම වුනා



මරණය දින

කියල මම දන්නවා, ජීවම පටන් ගන්න පහන පත්තු කරන කොටම පහන නිවුන කියල. මොකද එහෙම දෙයක් සිද්ධ වුනාම මම ඉතින් ඒ කාලෙ සමාධියට යොමු කරල බලනවා. මැරිලද නැත්ද කියන එකත් එතකොට කියන්න පුළුවන්. මම කිව්ව ඉතින් හදපු යන්ත්‍රය තියෙනවා, මහත්තය මේක ගෙනිහින් බෝධියකට පලඳවන්න කියල. හා කියල අරගෙන ගිහින් ඒක බෝධියකට පලන්දවල තිබුණා.

මරණෙ සිද්ධ වෙලා මාසයකට විතර පස්සෙ මේ අය නැවතත් මාව මුණගැහෙන්න ආවා. නමුත් එතකොට මම ඒ ස්ථානයේ නෑ. මට දීපු පංච පාසානම් කියන වස නිසා හොඳටම ලෙඩ වෙලා මම ගෙදර ගිහින් හිටියෙ. පස්සෙ ඒ අය එතනට යොමු කරපු උපාසක මහත්තයගෙන් මම ඉන්න තැන ගැන විස්තර අහනකොට කියල තිබුණා, ඒ මහත්තය මෙහෙම ආබාධයකට ලක් වෙලා වෙනත් තැනක ප්‍රතිකාර ගන්නව කියල. අපි හොයාගෙන ගෙදරට යමුද කියල ඇහුවම, එහෙම යන්න බෑ දන් ගෙදරත් නෑ, මෙහෙම වස විසක් දීපු එකකින් හොඳටම අමාරුයි කියල තිබුණා. ඒ වෙනකොට ඉතිං මගේ ශරීරයත් කලින්ට වඩා හුඟක් කෙට්ටු වෙලා ඇදිල ගිහින් අඳුන ගන්නත් බැරි විදිහට වැහැරිලා තිබුණෙ. මොකද අර දීපු වස නිසා. ඉතිං ඔහොම ඉඳල මමත් යන්තම් නුලට පණ බේරගෙන, දඩගමුව ප්‍රදේශය අතහැරල ඒ බේත් හේත් ඇතුළු සාසනික කටයුතු කරන්න ඊළඟට කළගෙඩිහේන ප්‍රදේශයට ගියා. ඊට පස්සෙ මේ මහත්තය ඒ ස්ථානයටත් මාව මුණගැහෙන්න ආවා. ඇවිත් ඉතින් ඒ ස්ථානයේ පුණ්‍ය කටයුතු උදෙසා ඉදිකරන ගොඩනැගිලි ආදියටත් පුළුවන් විදිහට උදව් උපකාර කළා. ඒ අලුත් ස්ථානයේ මංගල පූජාව පටන් ගත්ත දවසෙත් ඔහු සහභාගි වුනා. මේ මහත්තය ඉතිං මට වැඳල පැත්තකට වෙලා පූජාවටත් සම්බන්ධ වුණා. ඊට පස්සෙ ඔය විදිහට සතියකට සැරයක් විතර ඇවිත් ඒ කටයුතුවලටත් සම්බන්ධ වෙලා බණ දහම් අහලත් යනවා. තමන් ලබපු අත්දැකීම් එහෙම මාත් එක්ක කියනවා. මමත් ඉතින් ඒව සමාධියට යොමු කරල බලල හරි වැරදි පෙන්වා දෙනවා. ඒ ගැන ධර්මානුකූල විග්‍රහයක් එහෙම කරල තේරුම් බේරුම් කරල දෙනවා. ඔහු පෙදරේරු වැඩ කරපු නිසා ඒවායින් එන්න පුළුවන් වාස්තු දෝස ගැනත් මම පැහැදිලි කරල දුන්න. මේ බණ දහම් ඔහුගෙ ඔළුවට කා වැදිල තිබ්බ්ච නිසා ඔහු රස්සා කටයුතුවලිනුත් සෑහෙන දුරට ඉවත් වෙලා මේ සාසනික කටයුතුවලට වැඩිපුර සම්බන්ධ වුනා.

ඔහොම ගිහින් තවත් මාස 3 කට කිට්ටු වෙන්න කාල සීමාවක කළගෙඩිහේනෙ තිබ්බ්ච පූජාවකටත් සම්බන්ධ වෙලා, දැන් ඉතිං තාත්තගෙ තුන් මාසෙ පිංකමත් ළඟ නිසා මට ආරාධනාවක් කළා. එදාට ගමේ පන්සලේ හාමුදුරුවො බණ කියල ගියාම ධර්ම දේශනාවක් කරන්න ඔබතුමාට අපේ ගෙදර එන්න පුළුවන්ද කියල

ඇහුවා. හා ප්‍රශ්නයක් නෑ ඉතිං හාමුදුරුවො බණ කියල ගියාට පස්සෙනේ කියල මමත් එකඟ වුනා. ඉතිං තුන් මාසෙ පිංකමට කලින් දවසෙ මමත් පොල්ගහවෙල ප්‍රදේශයේ ඒ නිවසට ගියා. එදා රෑ ගමේ පන්සලේ හාමුදුරුවො බණ කියනකොට මමත් ඒ දේශනාව අහගෙන හිටියා. අන්තිමට හාමුදුරුවන්ට පිරිකර පූජා කරන කොට මම අර මහත්තයට කිව්වා, හාමුදුරුවන්ට දනුනෙ නැති වුනාට තාත්ත ගන්ධබ්බ ලෝකෙ ඉඳන් ඇවිත් පිරිකරටත් අතගැහුව කියල. මොකද ඒ වෙලාවෙ වෙනසක් දනිල මමත් වටපිට බලල යොමු කරන කොට තමයි ඒ සිද්ධිය දක්කෙ. ඊට පස්සෙ හාමුදුරුවොත් වැඩියට පස්සෙ මම රෑ 10 ට විතර පටිච්ච සමුප්පාදය ගැන දේශනාවක් පටන් ගත්තා. බණ අහන්න 100 ක් විතර සෙනගත් හිටියා. රෑ 12 ත් පහුවෙනකල් ඒ දේශනාව කරගෙන ගියා.

මේ අතර ඒ ළඟපාත ගෙදරක මේ අයට ඥාති වෙන නැන්ද කෙනෙකුට අමනුස්ස දෝසයක් තිබුණා. බණ පිරිත් කියන කොට අහගෙන ඉන්න බෑ, කෑගහනව දඟලනවා. ඉතින් මම දේශනාව කරගෙන යනකොටත් ශබ්ද විකාශන යන්ත්‍රවලින් මේ මනුස්සයටත් ඇහිච්ච නිසා කෑගහන්න දඟලන්න අරගෙන තිබුණා. මම ඉතිං විවේකයක් සඳහා බණ කියන එක ටික වෙලාවකට නතර කළාම, අර මනුස්සයගෙ කෑගැහීමත් නතර වුනා. ඒ අයගෙ ස්වාමි පුරුෂයා ඒ වෙලාවෙ ඇවිත් කියල තියෙනවා, හරි වැඩේනෙ අපේ ලොක්කි දෙවනත් කරනවා, දේශනාව නතර වුනා විතරයි දන් හොඳයි එක් කරගෙන එන්නද කියල. මේ ගෙදර අයත් ඉතිං කමක් නෑ එක්කරගෙන එන්න කියල කිව්වා.

මම දෙවනි වතාවට දේශනාව පටන් ගන්න කොට මේ මනුස්සය එතන ඉඳන් පිච්චෙනවා, දනවෝ කියල නැවතත් දෙවනත් කරන්න පටන් ගත්තා. ඊට පස්සෙ ඉතිං ඒ ගෙදර අය මොකද කළේ, අනිත් අයටත් බණ අහන්න කරදරයක් නිසා තෙල් ටිකක් ඔළුවට දාල අතගෑවම අර දඟලිල්ල නතර වුනා. දේශනාව ඉවර වෙලා මම ඒ අයට කිව්වා, හෙට උදෙන්ම කිරිබත් ටිකක් උයල බුද්ධ පූජාවට තියල පිරිත් නූලක් බැඳගන්න ඒ ලෙඩාව එක්කරගෙන එන්න කියල. පස්සෙ කළගෙඩිහේනෙ පූජාවට ඇවිත් යන්ත්‍රයක් දාගෙන ඔය ලෙඩේ සම්පූර්ණයෙන්ම සනීප කරගන්න පුළුවන් කියලත් මම කිව්වා. ඉතිං මම ඒ අයට පිරිත් නූලක් බැඳල පූජාවට සම්බන්ධ කරගෙන පස්සෙ දවසක යන්ත්‍රයක් දැම්මා. අවුරුදු 25 ක් තිස්සෙ එක දිගට තිබිච්ච ඒ අමනුස්ස දෝසයත් ඒකෙන්ම හොඳ වුනා.

මේ අතර තවත් විශේෂ දෙයක් සිද්ධ වුනා. මේ මියගිය අය ජීවත් වෙලා ඉඳෙද්දි ඔහුට යාළුවෙක් (තවත් උපාසක මහත්තයෙක්) දීපු බණ පොතක් තිබුණා. මියගිය පියාගෙ පොත් පෙට්ටිය ඇතුලෙ තිබිල ඒක අහුවෙලා මේ මහත්තයට අවශ්‍ය වුනා ඒක මට පූජ කරන්න. ඒ



පෙර අත්බවයේ දියණිය මේ අත්බවයේ මිත්තනිය වී

වෙන කොට ඒ පොත ඔහුට දීපු උපාසක මහත්තයත් මියගිහින්. නමුත් ඔහුගෙ බිරිඳ (උපාසක අම්මා) ජීවත් වුනා. ඒ නිසා මේ පොත පූජ කරන්න පෙර ඒ උපාසක මහත්තයගෙ බිරිඳගෙන් අහල බලන්න ඕන කියල මේ මහත්තය ඒ උපාසක අම්ම හමුවෙන්න ගිහින් විස්තරය කියල තිබුණා. උපාසක අම්මේ මට මේ වෙනකොට බොහොම වටින වෙද මහත්තයෙක් මුණගැහිල ඉන්නෙ, මියගිය උපාසක මහත්තයගෙ බණ පොතක් අපේ තාත්තට දීල තිබිල තාත්ත මළාට පස්සෙ පොත් පෙට්ටිය අවුස්සන කොට තමයි මේ පොත හමුවුනේ, මට අදහසක් ආවා ඒක අර වෙද මහත්තයට පූජ කරන්න, උපාසක අම්ම කැමති නම් මම ඒක පූජ කරන්නම් කියල කිව්වලු. කියන කොටම මේ උපාසක අම්ම, අනේ පුතේ කොච්චර හොඳද කියල අත් දෙක එකතු කරල වැඳල පූජ කරන්න කිව්වලු. ඉතින් මේ මහත්තය ඔය පොත අරගෙන කළගෙඩිහේනෙදි මට පූජ කරන කොට, ඒ පොත දීපු අර උපාසක මහත්තයත් ගන්ධබ්බ ලෝකයේ ඉඳන් ඇවිත් පෙනී හිටල ගරු කරල සාදුකාර දීල අනුමෝදන් වුනා. මම කිව්වා මෙන්න මෙහෙම හැඩරුව, පාට තියෙන කෙනෙක් ගන්ධබ්බ ලෝකයෙන් ඇවිත් ගරු කරල සාදුකාර දීල ගියා කියල. බලනකොට ඒ උපාසක මහත්තය තමයි ඇවිත් තියෙන්නෙ. ඉතින් මේ උපාසක මහත්තය ජීවත් වෙලා ඉඳෙද්දි ඒ වගේ පිනට දහමට පුරුදු වෙලා තිබිච්ච නිසා, මළාට පස්සෙ ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙනත් ඒ වගේ කටයුතු දකල සතුටු වෙන්න පුළුවන්කම ලැබුණා.

ඊළඟට මාස 6 ක් විතර ගියාට පස්සෙ නැවතත් අර මහත්තය තමන්ගෙ මියගිය තාත්ත ගැන මගෙන් ඇහුවා, කොහේ හරි ඉපදිලාද, ඔහු වෙනුවෙන් මොනවහරි විශේෂ පිංකම් කරන්න තියෙනවද කියල. ඉතිං මම කිව්වා, ඔය කරන පිංකම් කොහොමත් ඔහුට එල්ල කරල කරන නිසා ඒ ටික ප්‍රමාණවත්, කොහොමත් තාත්තා අවුරුදු 6 කින් විතර මේ ගෙදරටම සම්බන්ධ වෙනවා, එතකල් අන්තරාභවිකව ඉන්නව කියල. ඒ කියන්නෙ මියගිය දවසෙ පටන් අවුරුදු 6 ක් විතර යනකල්. ඊට පස්සෙ අවුරුදු 2 ක් විතර ගිහින් නැවතත් පූජාවකට ආපු වෙලාවක තාත්ත ගැන ඇහුවා. මම යොමු කරල බලන කොට කොහේහරි උප්පත්තියකට ගිහිල්ල කියල දනුනා. මම ඉතිං යොමු කරල බලලම ඒ විස්තරයත් කිව්වා. මෙන්න මෙහෙම කන්දක් උඩ ගලකින් නැගල යන්න තියෙන ගෙදරක අවුරුදු 40 ක විතර කාන්තාවකගෙ කුසට තමයි ගිහින් තියෙන්නෙ කියල ඒ කාන්තාවගෙ නමත් එක්කම කිව්වා. බලන කොට මේ අයගෙ පුංචි අම්ම කෙනෙක්. ඒ පුංචි අම්ම බැඳල ඉන්න බාප්ප මේ මහත්තයගෙ මියගිය තාත්තගෙ පැත්තෙනුත් නෑයො වෙන කෙනෙක්. මම විස්තරය කිව්වම, මේ මහත්තයට ඒ ගැන කෙලින්ම අහන්න බැරි නිසා තමන්ගෙ සහෝදරියකට කිව්වා, මෙන්න මේ අහවලාට දරුවෙක් ලැබෙන්න ඉන්නවද කියල ☞

හොයල බලන්න කියල. ඔහොම මාසයක් 2 ක් විතර ගියාට පස්සෙ හොයල කිව්වා, එහෙම දරුවෙක් ලැබෙන්න ඉඳල ඒක අහක් වෙලා කියල. ඒ කියන්නෙ ස්වභාවිකව වෙච්ච ගබ්සාවකින් ඉවත් වෙලා. ඊට පස්සෙ මේ අයට ඕන වුනා එතනින් කොහාටද ගියේ කියල බලා ගන්න. මම ඉතින් මුලින් ඔය කතාව දන්නෙ නැතිව යොමු කරල බලනකොට මටත් පෙනුනා, අර කුසින් පිටවෙලා තවත් තැනකට ගිහින් දැන් නැවතත් අන්තරාභවිකව ඉන්නව කියල. ඉතිං මම කිව්වා, එතනින් ගිහින් දැන් නැවතත් ගන්ධබ්බ අවධියේ ඉන්නෙ, තාත්ත මියගිහින් හය අවුරුද්දකින් නැවතත් පවුලටම සම්බන්ධ වෙනව කියල. ධර්මානුකූලව කලින් සමාධියට ආපු කාරණයම නැවතත් ඒ විදිහට කියවුනා.

තවත් අවුරුද්දක් විතර ගියාට පස්සෙ මේ අයගෙ අක්කගෙ දුවක්, ඒ කියන්නෙ මියගිය තාත්තගෙ දුවෙක්ගෙ දුවෙක්, මියගිය තාත්ත-ගෙම අක්කගෙ දුවගෙ පුතෙකුට විවාහ කරල දුන්නා. ඒ කියන්නෙ නෑනයි මස්සිනයි. නෑකමිනුත් ගැලපෙනවා. මේ අය කතිකා වෙලා මවුපියන්ගෙ කැමැත්ත ඇතිව තමයි ඒ විවාහය සිද්ධ වුනේ. ඒ විවාහයේ චාරිත්‍ර කටයුතු කරල ආශිර්වාද කරන්න මමත් ගියා. මොකද ඒ වෙනකොට ඒ අයත් මේ බණ දහම් අහන්න අපි ඇසුරට එනවා. ඉතින් මේ දෙන්න විවාහ වෙලා අවුරුද්දක් ගියාම දරුවෙක් ලැබෙන්න ආවා. දැන් ඉතින් මේ මහත්තයගෙ අක්කටත් ඉවසුම් නෑ, අනුමාන කරනවා මේ බඩට ඇවිත් ඉන්නෙ තාත්ත වෙන්න ඇති කියල. මොකද අර මම කියපු අවුරුදු 6 ක කාල සීමාවට ඒ වෙන කොට තවත් අවුරුද්දක විතර කාලයක් තමයි ඉතිරි වෙලා තිබුණෙ.

මේ කාලය වෙනකොට මම කළගෙඩිහේනෙ වැඩ කටයුතු නතර කරල එතනින් පොල්ගහවෙල ප්‍රදේශයට ඇවිත් තමයි ඒ සාසනික කටයුතු කරගෙන ගියේ. ඒ කියන්නෙ මේ මියගිය අයට අයිති ගිජිදාගම කියන ප්‍රදේශයේ තිබිච්ච ගෙදරක. මම ඒ ගෙදරට යනකොට ඒ මියගිය අය ඒ ගෙදරත් ගන්ධබ්බ අවස්ථාවෙන් හිටියා. එහෙම ඉඳගෙන ගේ ඇතුළටම වෙලා බුලත්විට කොටාගෙන කනවා. ඊට පස්සෙ ඒ අය ඒ ගෙදර සුද්ධ පවිත්‍ර කරල දීල, මම ගේ ඇතුළට ගියාට පස්සෙ තමයි මේ ගන්ධබ්බයා ගෙයින් පිටවෙලා ගියේ. ඉතිං මේ මහත්තයගෙ අක්කා, ඒ කියන්නෙ දරුව ලැබෙන්න ඉන්න දුවගෙ අම්මා, මම සමාධි බලන වෙලාවක මාව මුණගැහෙන්න ඇවිත් මේ ගැන ඇහුවම මම කිව්වා, ඔය දැන් ගෙදරට ඇවිත් ඉන්නෙ කියල. ඉපදෙන්න ඉන්න දරුවගෙ ලක්ෂණ ටිකකුත් කියවුනා. සමාධියට යොමු කරලම තමයි ඒ කාරණයත් කිව්වෙ. ඒ කාලෙ ඉතින් 10 දෙනෙක් ආවොත් 10 දෙනාගෙම කාරණා වෙන වෙනම සමාධියෙන් බලල කියනවා. ඒ කාලෙ මම මහණ වෙලත් නැති නිසා, ඒ එන පිරිස් විවිධාකාර රටේ ලෝකෙ දේවල් ගැන අහනවා. මමත් ඉතින් බලල සමාධියට යොමු වෙච්ච දේ කියනවා.



පෙර අත්බවයේ බිරිඳ මේ අත්බවයේ මී මිත්තනිය වී

දැන් ඉතින් මේ සිද්ධිය අක්කගෙන් දැනගෙන මේ මහත්තය මගෙන් ඇහුවා, මොනවත් විශේෂ දෙයක් කරන්න තියෙනවද කියල. මම කිව්වා, තාත්ත ජීවත් වෙලා ඉදෙද්දි වවා හදපු පොල් ගහකින් පළවෙනි ගෙඩියක් දෙකක් කඩල ඉඳුල් නොකර හින්දවල දොළොස්මහේ පහනකට දාල තාත්තගෙ නම කියල අනුමෝදන් කරන්න, ඒක නුවණට හේතු වෙනව කියල. ඒ වෙනකොටත් මියගිය පියා හිටවපු අලුතින් පීදෙන පොල් ගහක් තිබිල මේ අය ඒකෙ තිබිච්ච කුරුම්බ ගෙඩි 2-3 ක් කඩල අර විදිහට තෙල් හින්දවල දොළොස්මහේ පහනකට දාල පසළොස්වක පෝය දවසක නම කියල අනුමෝදන් කළා. ඒ අනුමෝදනාව කළෙත් මම.

දැන් ඉතින් කාලයක් තිස්සෙ මම ඇසුරට ආපු ඒ මහත්තයට නම් මේ වෙනකොට තාත්ත ගැන සැකයක් තිබුණෙ නෑ. දාන මාන දීල ඒ කටයුතු සිද්ධ කරපු නිසා ඒ ගැන සැකයක් නැති වුනත්, මව්පියන් හැටියට මොනව හරි සසර ණයක් තියේනම් ඒව ගෙවල ඉවර කරන්න ඕන, ඒ අයට නිවන් දකින දහමක් පහදල දෙන්න බැරි වුනානෙ කියන හිතේ අමාරුව තිබුණා. මොකද තාත්ත මියයනකොට මාව මුණගැහිල තිබුණෙ නෑ. ඉතින් කොහොම හරි නියමිත කාලය ගිහින් දරුව ලැබුනම ඒ අක්ක මේ මහත්තයට කිව්වා, මල්ලි අන්න දෝණිට බබා හම්බවෙලා තාත්ත තමයි කියල. එතකොට තාත්ත මියගියේ 1994.01.30, මේ ළමය ඉපදුනේ 2000.07.16

ඉතින් ළමය ඉපදුණාම අර මහත්තය මට එදාම දැනුම් දුන්නා තාත්ත ඉපදිලා කියල. ඒ වෙලාවෙදි මම ඒ ළමයගෙ ගති ලක්ෂණ, ඉන්න ස්වභාවය ආදියත් කිව්වා. දකුණු කකුලෙ දණහිසට පහලින් කළුපාට උපන් ලපයක් ඇති, ඊළඟට නලලෙ පැත්තකට වෙන්න නිල් පාටට හුරු කොල පාට වගේ නහර වැලක් පේන්න ඇති... ඔය ආදී වශයෙන් තවත් ලක්ෂණ කිහිපයක් කිව්වා. මම කිව්වා මහත්තය හවසට බලන්න යන්න, එතකොට ළමය ඉන්න විදිහත් මේකයි කියල. මහත්තය ඉස්පිරිතාලෙට යනකොට ළමය නළල උඩ අතක් තියාගෙන මෙන්න මෙහෙම ඉඳියි, මහත්තය දැකපු ගමන් එකපාරටම ඒ දරුව කලබල වෙලා මොනවහරි කියන්න දඟලයි කියලත් කිව්වා. මොකද පෙර අත්බවයේ උදව් උපකාර කරපු පුතා නිසා ඒ සසර මතකය නැවත ඇදිල එන්න පුළුවන්.

ඉතින් මේ මහත්තය එදාම හවස ඉස්පිරිතාලෙට ළමය බලන්න යනකොට, කිව්ව වගේම නලල උඩ අත තියාගෙන ළමයට නින්ද ගිහින්. එතකොටම ළමයගෙ අම්ම කියල තියෙනවා, මේං පුතේ අත්ත ඇවිත් කියල. මොකද පෙර අත්බවයේ පුතා වුනාට දැන් ඉතින් නෑකමින් අත්ත (සීයා) වෙන්නෙ. එහෙම කියනකොටම මේ දරුවා ඇස් දෙක ඇරල, අර කිව්ව වගේම අතපය හොල්ලල කට ඇරල අඬන්න දඟලන්න ගත්තා. ඒ වගේම මම අර කියපු

ශරීර ගති ලක්ෂණත් ඒ විදිහටම තිබුණා. තාත්ත මියයනකොට තිබිච්ච මුහුණුවරත් ඉපදිලා අවුරුදු 2-3 ක් යනකල් තිබුණා.

දැන් ඉතින් ළමය ටික ටික ලොකු මහත් වෙනකොට පූජා කටයුතුවලටත්, මා ඇසුරටත් එක් කරගෙන ආවා. ඒ වෙනකොට මම නැවතිලා වැඩ කටයුතු කළේ, ඒ මියගිය අයගෙ ගිජිදාගම ප්‍රදේශයේ තිබිච්ච තවත් ගෙයක. එතකොට මේ ළමය යන්තම් බහ තෝරනව විතරයි. ඔහු පෙර අත්බවේ වඩු වැඩ කරද්දි පාවිච්චි කරපු ආයුධ පෙට්ටියකුත් ඒ ගේ ඇතුලෙ තිබුණා. දවසක් මේ දරුව මමත් ඉන්න වෙලාවක ඒ ගෙදරට වැටි වැටි ආපු ගමන් කෙළින්ම ගියේ අර කාමරේට. ගිහින් අර ආයුධ පෙට්ටියේ තිබිච්ච කියතක් අරගෙන මේක මගේ කිව්වා. මාත් ඉතින් ආ... ඕක ඔයාගෙ නේන්නම් කියල කිව්වා. ඉතින් මමත් ලැබිච්ච වෙලාවක ඒ දරුව වඩාගෙන මොනවහරි කන්න තියෙන දෙයක් කවල ඔළුව අතගානවා. හැබැයි එහෙම කරන්නෙ වෙනත් අය වගේ නිකං ළමයි හුරතල් කරන්න ඕනකමට එහෙම අදහසකින් නෙවෙයි. ඒ ළමයගෙ තියෙන මොනවහරි බාධකයක් දුරු කරන්න, ආශිර්වාද කරන්න තමයි එහෙම යමක් කන්න දීල වඩාගෙන ඔළුව අතගාන්නෙත්. මොකද මිනිස් භවයක හිටපු කෙනෙක් මියගිහින් නැවතත් මිනිස් භවයක ඉපදුණාම, පොඩි කාලෙ ඉඳන්ම දහමට යොමු කරන්න ඒ වගේ දෙයක් උපනිශ්‍රය වෙනවා. ඒක ඒ ළමයට අනාගතයේ කවදහරි යහපතට හේතු වෙනවා. ඉතිං මම එදත් දරුවෙක් වඩා ගත්තෙ, ඔළුව අතගෑවෙ, කරුණාවෙන් දයාවෙන් ඒ වගේ අදහසක් මුල් කරගෙනමයි. මේ කාරණය අද දරුවො අල්ලගෙන බදාගෙන හුරතල් කරන අයටත් දැන ගන්න බොහොම වටින දෙයක්. අපි දරුවෙක්ගෙ ඔළුව අතගාල දහමට අනුකූලව හිතින් යම් කිසි ආශිර්වාදයක් කළොත්, ඒක ඒ ළමයට කවදහරි දහමට යොමු වෙන්නත් උපනිශ්‍රය සම්පත්තියක් වෙනවා. නිකං අල්ලගෙන වඩා ගෙන ආස්වාදයක් ගන්න හුරතල් කරනවට වඩා ඒක බොහොම වටිනවා.

දැන් ඉතින් මේ ළමය ඉපදිලා අවුරුදු 13 ක් විතර යනකල්ම පෙර භවයේ බිරිඳත් ජීවත් වුණා. හැබැයි පෙර භවයේ බිරිඳ දැන් මේ දරුවට නැකමින් මීමුත්තම්මා (මී ආත්තම්මා). ඇයගෙ මීමුණුබුරා. පසු කාලයක ඇයත් දැනගත්තා මේ අභවලා කියල. ඉතින් මේ පොඩි දරුවා අවුරුදු දවස්වලට ඒ මහ ගෙදරට එනකොට, ඒ මීමුත්තම්මට (පෙර බිරියට) කතා කරන්නෙ ආ... හලෝ කියලලු. එදා බිරිඳට කතා කරපු සසර පුරුද්ද තවමත් ශේෂ වශයෙන් තියෙන්න ඇති. ඒ වගේම ඒ මහගෙදරට ආවම, මේ මගේ ගේ කියලත් කියනවලු. පෙර භවයේ මතකයන් කියන කරුණුවලිදි අපිටත් තේරෙනවා, මේ කියන්නෙ පෙර මතකයක්ම තමයි කියල. ඒ කියන්නෙ සියල්ලම නෙවෙයි, සමහර කරුණු. දැනටත් ඒ පෙර අත්බවයේ ගති ලක්ෂණ ඒ ළමයට තියෙනවා. ඒ මියගිය තාත්ත ඒ කාලෙ හුගක් බුලත්විට හපල, විසිරෙන්නෙ නැති වෙන්න හුගක් ඈතට යනකල් කෙල පාර ගහනවලු. මේ දරුවටත් පොඩි කාලෙදීම ඇඟිලි 2 ක් තියල අර වගේ ඈතට සද්දෙ එන්න කෙල ගහන පුරුද්දක් තිබුණා.

ඊට පස්සෙ ඉතින් මේ ළමය පාසලටත් ඇතුලත් කරල 5 වසර විභාගෙත් හොඳට සමත් වෙලා තිබුණා. දැන් අධ්‍යයන පොදු සහතික පත්‍ර සාමාන්‍ය පෙල විභාගය කරන වයසෙ. ඉගෙන ගන්නත් බොහොම දක්ෂයි.

ඉතින් බලන්න සසරක හැටි. පෙර අත්බවයේ පියා දැන් ඒ අත්බවේම තමන්ගෙ දුවගෙ දුවට දාව ඉපදිලා. පෙර අත්බවයේ පුතා මේ අත්බවයේ සීයා. මේ අත්බවයේ තාත්ත වුනේ පෙර අත්බවයේ තමන්ගෙ අක්කගෙ දුවගෙ පුතා. මාව ඇසුරු කරපු ඒ මහත්තය එදා පුතා, අද සීයා. එදා මිණිබිරිය අද මව් වෙලා. එදා මුණුබුරා අද පියා වෙලා. එදා දරුවො අද සීයල ආච්චිල වෙලා. එදා බිරිඳ අද නැකමින් මීමුත්තම්ම වෙලා. දැන් ඉතින් නැවතත් මුල ඉඳලම පැසැල් ගිහින් ඉගෙන ගෙන විභාග සමත් වෙලා රස්සාවල් කරල ගෙවල් දොරවල් හදල මේ ලෝකයේ ජීවිතය ගැට ගහගෙන යන්න සටන් කරන්න සිද්ධ වෙලා. එදත් ඔය ටිකම කරල අන්තිමට මළා. ඔහොම තමයි ඉතින් නිවන් දක්නා ජාති දක්වා සසර ගමන යන්නෙ. මැරෙන කොට ඒකත් අතහැරල තවත් ඒ ජාතියේ එකක් අල්ල ගන්නවා. කලින් විඳපු භුක්තිය තමයි නැවතත් බලාපොරොත්තු වෙන්නෙ. හැබැයි දැන් කලින් ඥාතීන් ඒ විදිහටම නෙවෙයි මුණගැහෙන්නෙ. නෑදෑකම් උඩු යටිකුරු වෙලා. මොන ආගමක, ජාතියක හිටියත් ඒක එහෙමයි. සමහරවිට කෙනෙක් මියයනකොට පලිගැනීමේ චේතනාවක් තිබුණනම්, සතුරෙකුට දාව ඉපදිලා සසර ගනුදෙනු පියවෙන ක්‍රමයක් යෙදෙන්න පුළුවන්. එහෙම නැතුව නෑදෑයොම තමන්ගෙ ළඟට එනව නෙවෙයි. මොනවහරි හොඳ හෝ නරක සම්බන්ධයකට තමයි උප්පත්තියකට ඇවිත් ඇසුරට එන්නෙ. ඒ කියන්නෙ මොනවහරි ගනුදෙනුවකට.

දැන් ඉතින් මම මේ සිද්ධිය එදා සමාධියට යොමු කරල බලල මෙහෙමයි කියල කියපු නිසා දන්නවා. නමුත් ඔය වගේ අනිත් අයගෙත් පවුල්වලට අලුතින් එකතු වෙන දූ දරුවො, පෙර කවුරු විදිහට කොහොම වෙලා හිටපු අයද කියන්න ඒ අය දන්නෙ නෑ. නමුත් ඔය වගේ හැකියාවකින් යොමු කරල බැලුවොත් පේනවා, මොනව හරි පෙර සම්බන්ධයකටම තමයි ඇවිත් ඉන්නෙ කියල. ඉතිං අද මිනිස්සු ජාති, ආගම්, කුල මල භේද වශයෙන් ගහමරා ගන්නවා. ඔය ගහමරා ගන්න කෙනෙක්ම ඊළඟට තමන්ගෙ දරුවෙක්, මුණුබුරෙක් වෙලා පවුලටම එකතු වෙන්නත් පුළුවන්. නමුත් ආවට පස්සෙ ඒ කාරණා මතක නෑ. එදා හතුරා අද දරුවා. එහෙම නැත්නම් මුණුබුරා. එදා ලෝක සම්මත වෙනත් ජාතිකයෙක් අද තමුන්ගෙම ජාතිකයෙක් වෙලා නෑදෑයෙක් වෙන්න පුළුවන්. ඉතින් මේ වගේ දේවල් දන්නෙ නැතිව තමයි මේ මිනිස්සු නොයෙක් දේවල්වලට ගහමරා ගන්නෙ, රණ්ඩු වෙන්නෙ. දැන් ඔය කිව්වෙ එදා තාත්ත දැන් තමන්ගෙ මුණුබුරෙක් වෙච්ච හැටි. ඔය විදිහටම අද අම්මා, ඊළඟ අත්බවයක තමන්ගෙ බිරිය වෙන්නත් පුළුවන්. අද බිරිය ඊළඟ අත්බවයක තමන්ගෙ අම්ම වෙන්නත් පුළුවන්. අද ස්වාමි පුරුෂයා තවත් අත්බවයක පුතා වෙන්න පුළුවන්, තාත්ත වෙන්න පුළුවන්. මේ වගේ කෙළවරක් නැති සසර ගනුදෙනුවල ස්වභාවය මේ අනුසාරයෙන් තේරුම් අරගෙන, මේ සසර ගමන මොන තරම් භයානක දෙයක්ද කියන කාරණය ධර්මානුකූලව තේරුම් ගන්න ඕන.

**සටහන:**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සාසනික පැවිද්ද... 6

<u>ස්නානය පිළිබඳ සික පද</u>

භික්ෂූන් වහන්සේලාගේ පැන් පහසු වීම හෙවත් ස්නානය පිළිබඳ විනය සික්ෂා ගණනාවක් සඳහන් වෙනවා. මධ්‍ය දේශයේ භික්ෂූන්ට පැන් පහසු වෙන්න පුළුවන් මාසයකට දෙවරක් පමණයි. මේකට හේතුවත් සඳහන් වෙනවා. දවසක් බිම්බිසාර රජතුමා ස්නානය කරන්න නාන තැනට යනකොට ඒ ස්ථානයේ භික්ෂූන් වහන්සේලා පැන් පහසු වෙමින් හිටියා. රජතුමා පැමිණි බවක් නොසලකා භික්ෂූන් වහන්සේලා රෑ වෙනකල් පැන් පහසු වෙමින් හිටපු නිසා රජතුමාට නාගන්න බැරි වුනා. පහුවදා බිම්බිසාර රජතුමා බුදු රජාණන් වහන්සේ හමුවෙන්න ගිය අවස්ථාවෙ මේ කාරණය සැලකළා. ඒ කාරණය නිමිති කරගෙන භික්ෂූන්ට අඩ මසකට වරක් පැන් පහසු වෙන්න කියල විනය සික්ෂාවක් පැනෙව්වා. නමුත් උෂ්ණ කාලවලදී, දහඩිය දමනකොට, ගිලන් වුනාම, වෙහෙස වෙලා වැඩ කටයුත්තක් කරපු අවස්ථාවක, අව්ව, දූවිල්ල වගේ අවස්ථාවක අඩ මසකින් මෙහා පැන් පහසු වුනාට ඇවැත් සිද්ධ වෙන්නෙ නෑ.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, මාසයකට දෙපාරක් විතරක් නාගෙන ඉන්න පුළුවන්ද, ඒ විනය නීතියේ කිසිම ප්‍රායෝගික බවක් නැනෙ කියල. නමුත් එදා මධ්‍ය දේශය කියල හඳුන්වපු ඉතා කුඩා ප්‍රදේශයේ කාලගුණය, දේශගුණය අද වගේ නෙවෙයි, මීට හාත්පසින්ම වෙනස්. ඒ කියන්නෙ අනෙක් ප්‍රදේශවල වගේ අමාරුකම් තිබුණ ප්‍රදේශයක් නෙවෙයි. හරියට නිකං වායු සමනය කරපු කාමරයක ඉන්නකොට නාන්න ඕන නෑ වගෙයි. එහෙම අවස්ථාවක නිතර නිතර නෑමේ අවශ්‍යතාවයක් නෑ. මාසයකට දෙපාරක් නැවත් ඇති. අන්න ඒ වගේ පරිසරයක් තමයි එදා මධ්‍ය දේශයේ තිබුණෙ. ඉතින් ඒ වගේ පරිසරයක ඉඳගෙන භික්ෂූන් වහන්සේලා නිතර නිතර පැන් පහසුවීම නිසා දිය කෙළියක ස්වභාවය අරගෙන හිත වික්ෂිප්තභාවයට පත් වෙන්න පුළුවන්. ඒකෙන් අනික් අයට බාධා පැමිණෙන්න පුළුවන්. සාසනය අපකීර්තියට පත් වෙන්න පුළුවන්.

ඒ වගේම භික්ෂූන් වහන්සේලා ගිහි අය වගේ අතපය හොල්ලල වැඩපල කරන්නෙ නැති නිසා ඒ හැටි වෙහෙස මහන්සියක්, දහඩිය දැමීමකුත් නෑ. මේ ආදී කරුණු නිසා එදා මධ්‍ය දේශයේ වැඩ වාසය කරපු භික්ෂූන් වහන්සේලාට මාසයකට දෙවරක් පැන් පහසුවීම ප්‍රමාණවත් වුනා. හැබැයි මේ නීතිය වලංගු වුනේ මධ්‍ය දේශයට විතරයි. ප්‍රත්‍යන්ත දේශවලදී දිනපතා පැන් පහසු වුනාට වරදක් නෑ. මොකද ප්‍රත්‍යන්ත දේශවලදී කාලගුණ දේශගුණ තත්වයන් වෙනස්. ඒවායේ දූවිල්ල, උෂ්ණත්වය සාපේක්ෂව වැඩියි, මේ කියන සමාජ පසුබිමත් වෙනස්. ඒ නිසා ඒ පිළිබඳව ඉල්ලීමක් කරල තමයි ඒ ප්‍රදේශවල කැමති වාරයක් පැන් පහසු වෙන්න අවසර දුන්නෙ. ඒ නිසා මේ විනය නීතිය අවස්ථානුකූලව පනවපු දෙයක්.



"න භික්ඛවේ නහාය මානේන භික්ඛුණා රුක්ඛේ කායෝ උග්ඝංසේතබ්බෝ" පැන් පහසුවන අවස්ථාවල කුණු ඉවත් කරන්න ගස්වල කය ඇතිල්ලීම, කනුවල කය ඇතිල්ලීම, බිත්තිවල කය ඇතිල්ලීම, අට්ඨාන නම් කනුවල කය ඇතිල්ලීම නොකළ යුතු බව සඳහන් වෙනවා. අට්ඨානය මේ කාලෙ දකින්න නෑ. ලී කොටයක පැත්තක් ලෑල්ලක් විදිහට රළුල දූ පෝරුවක (දාදු ලෑල්ලක්) වගේ දෙපැත්තට ඉරි කපල නාන තැන්වල හිටවන කනුවට අට්ඨාන කියල කියනවා.

පැරණි කාලයේ ගන්ධබ්බ හත්ථක කියල, වඳුරු අතක් වගේ ඇඟ අතුල්ලන්න ලීයෙන් හදාගත්තු උපකරණයක් තිබිල තියෙනවා. ඒකෙන් ඇඟ ඇතිල්ලීමත් ඇවැත් සිද්ධ වෙන්න හේතු වෙනවා. ඒ වගේම කුරුවින්දක කියල තවත් උපකරණයක් ඇඟ අතුල්ලන්න අතීතයේ භාවිතා කරල තියෙනවා. කුරුවින්දක කියන්නෙ ගල් වර්ගයක්. ඒවා කුඩු කරල ලාකඩ එක්ක මිශ්‍ර කරල ගුලි හදල වැලක අමුනල, ඒ වැල දෙකොනින් අල්ලල දෙපැත්තට ඇද ඇද ඒකෙන් පිටේ කුණු ඉවත් කරගන්න ක්‍රමයක් තිබිල තියෙනවා. වර්තමානයේ ඒ වගේ ක්‍රම නැති නිසා ඇවැත් සිදුවීම සම්බන්ධයෙන් ගැටළුවක් නෑ. ඒ වගේම එකිනෙකා කයින් කය ගට්ටනය කරමින් කුණු ඇතිල්ලීමත් තහනම්. මල්ලක කියල දැති කපපු පියුම් කෙමියක් වගේ උපකරණයක් කුණු අතුල්ලන්න අතීතයේ භාවිතා කරල තිබුණත් මේ කාලයේ ඒ වගේ ක්‍රම නැති නිසා ගැටළු ඇති වෙන්නෙ නෑ.

<u>භික්ෂූන් නිතර සිහි කළ යුතු දස ධම්ම සූත්‍රය</u>

දස ධම්ම සූත්‍රය හැම භික්ෂූන් වහන්සේ නමක්ම දැනගත යුතු, කට පාඩම් කරගත යුතු දේශනාවක්. "දශ ඉමේ භික්ඛවේ ධම්මා පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බා" මහණෙනි, මේ කාරණා දහය පැවිද්දා විසින් නිතර නිතර සිහි කළ යුතුයි.

01. "වේවණ්ණියම්හි අජ්ඣුපගතෝති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛි තබ්බං" මම ගිහියන්ගේ ආකාරයෙන් වෙනස් වූ ආකාරයට පත් වූ කෙනෙක් කියා පැවිද්දා නිතර සිහි කළ යුතුයි.

02. "පරපටිබද්ධා මේ ජීවිකාති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛි තබ්බං" **මාගේ ජීවිකාව අනුන් නිසා පවතින එකක් කියා පැවිද්දා නිතර සිහි කළ යුතුයි.**

03. "අඤ්ඤෝ මේ ආකප්පෝ කරණීයෝති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං" මම ගිහියන්ට වඩා වෙනස් ආකල්පවලින් කටයුතු කළ යුතුයි කියා පැවිද්දා නිතර සිහි කළ යුතුයි.

04. "කච්චිනුඛෝ මේ අත්තා සීලතෝන උපවදතීති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං" **මාගේ සිත සීලය නිසා චෝදනා කරනවාද කියා පැවිද්දා නිතර සිහි කළ යුතුයි.** ඒ කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහවලින් කරන කටයුතු නිසා තමන්ට තමන් නිග්‍රහ කරනවද කියල සිහි කරන්න ඕන.

05. "කච්චිනුඛෝමං අනුවිච්ච විඤ්ඤූ සබ්‍රහ්මචාරී සීලතෝ න ☞

උපවදන්තීති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං" නුවණැති සබ්‍රහ්මචාරීන් වහන්සේලා (ආර්ය උතුමන්) මා ගැන විමසා සීලය හේතුකොට ගෙන මට චෝදනා කරයිද කියා පැවිද්දා නිතර සිහි කළ යුතුයි.

06. "සබ්බේහි මේ පියේහි මනාපේහි නා නා භාවෝ විනා භාවෝති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං" **මට ප්‍රිය මනාප සියල්ල, සියලු දේවල් නොයෙක් නොයෙක් බවට පත්වෙලා ඒවායින් වෙන් වීමට සිදු වෙනවා කියා පැවිද්දා නිතර සිහි කළ යුතුයි.**

07. කම්මස්සකෝම්හි, කම්ම දායාදෝ, කම්ම යෝනි, කම්ම බන්ධු, කම්ම පටිසරණෝ, යං කම්මං කරිස්සාමි කල්‍යාණං වා පාපකං වා තස්ස දායාදෝ භවිස්සාමීති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං" කර්මය තමා කරගෙන, උරුම කරගෙන, නෑයා කරගෙන, පිහිට කරගෙන සැප දුක ලැබීමට හේතුවක් කරගෙන සිටී. යහපත් වූත් අයහපත් වූත් යම් කර්මයක් කරයි නම් එය දායාද කරගෙන සිටින්නේ කියා පැවිද්දා නිතර සිහි කළ යුතුයි.

08. "කථංභූතස්ස මේ රත්තිං දිවාවීති පතන්තීති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං" තමා දිවා රාත්‍රී ගෙවන්නේ කුමක් කරමින් සිටින විට දැයි පැවිද්දා නිතර සිහි කළ යුතුයි.

09. "කච්චිනුබෝහං සුඤ්ඤාගාරේ අභිරමාමීති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං" තමා සුඤ්ඤාගාරයෙහි සිත් අලවා වාසය කරන කෙනෙක්ද කියා පැවිද්දා නිතර සිහි කළ යුතුයි. සුඤ්ඤාගාර කියන්නෙ හිස් ගෙවල්. ඒ වගේ නිදහස් තැනක් තමයි මේ කියන්නෙ. ඒ තමයි ලෞකික අර්ථය. රාග, ද්වේශ, මෝහවලින් ශුන්‍ය වෙලා වාසය කිරීම තමයි පරමාර්ථ දහම් අර්ථය.

10. "අත්ථි නුඛෝ මේ උත්තරි මනුස්ස ධම්මා අලමරිය ඤාණ දස්සන විසේසෝ අධිගතෝ සෝහං පච්ඡිමේ කාලේ සබ්‍රහ්මචාරීහි පුට්ඨෝ න මංකු භවිස්සාමීති පබ්බජිතේන අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං"

මරණාසන්න අවස්ථාවෙදි සබ්‍රහ්මචාරීන් වහන්සේලා විසින්, ඔබට යම් කිසි අධිගමලාභී තත්වයක් තිබේද කියා ඇසූ විට දුර්මුඛ නොවෙමියි කියා පැවිද්දා විසින් නිතර සිහි කළ යුතුයි. ඒ කියන්නෙ ඊට පෙර නොකිව්වත්, ඒ වගේ අවස්ථාවක ඇහුවොත් කතා නොකර ඉන්නෙ නැතිව තමන්ගෙ තත්වය කියන්න ඕන. කිව යුතු තැන කියන්න ඕන. පෙර හිටපු රජවරු අධිගම ප්‍රකාශ නොකරපු ආර්ය උතුමන් වහන්සේලාගේ මරණාසන්න මොහොත ළංවෙන කොට උන්වහන්සේලා ළඟට ගිහින්, ඔබ වහන්සේ අධිගම ලාභියෙක්ද ආදී වශයෙන් පෞද්ගලිකව විමසා සිටින සිරිතක් තිබුණු බව කියනවා. මොකද ආර්ය උත්තමයන් වහන්සේ නමක්නම් ආදාහන කටයුතු පුද පූජා සහිතව ගෞරවයෙන් සිද්ධ කරන්න ඕන නිසා.

මේ විදිහට පැවිද්දා විසින් නිතර සිහි කළ යුතු කාරණා 10 ක් මේ දස ධම්ම සූත්‍රයෙන් පැහැදිලි කරල තියෙනවා.

### අරියවංශ ධර්මය

අරියවංශ දේශනාව තථාගතයන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේදි 40,000 ක් භික්ෂූන් වහන්සේලාට දේශනා කළා. ලොව පහළ වූ සියලු බුදු, පසේ බුදු, මහ රහත් උතුමන් වහන්සේලා විසින් පවත්වාගෙන ආ, උසස් වූ ඉතා පැරණි වූ බුද්ධාදී උතුමන් බැහැර නොකළ,



අනාගතයේදීත් බැහැර නොකරන, උතුමන්ගේ ගර්හාවට ලක් නොවන පිළිවෙත් හතරක් තියෙනවා. ඒවා අරියවංශ ධර්ම කියල හැඳින්වෙනවා.

01. ඉතරීතර චීවර සන්තුට්ඨිතාව

02. ඉතරීතර පිණ්ඩපාත සන්තුට්ඨිතාව

03. ඉතරීතර සේනාසන සන්තුට්ඨිතාව

04. භාවනාරාමතාව

මේ ආර්යවංශ ධර්මය පෞරාණික භික්ෂූන් වහන්සේලා ඉතා උසස්කොට සලකල තියෙනවා. අතීතයේ භික්ෂූන් වහන්සේලා පොහොය දිනවල නොයෙක් තැන්වල මේ ධර්මය දේශනා කළා, ඇහුවා.

ඉතරීතර චීවර සන්තුට්ඨිතාව - යම් භික්ෂුවක් සියුම් වූ හෝ රළු වූ හෝ බර වූ හෝ සැහැල්ලු වූ හෝ අළුත් වූ හෝ පරණ වූ හෝ තමන්ට ලැබිල තියෙන මොකක් හෝ සිවුරකින් සතුටු වෙනවද, ලැබිච්ච සිවුරකින් සතුටු වීමේ ගුණ කියනවද, සිවුරු ලබා ගැනීම සඳහා පැවිද්දා නොකළ යුතු එක්විසි අනේසන ධර්මවල (මීට පෙර ලිපිවල අනේසන ධර්ම විස්තර කරල තියෙනවා) නොයෙදෙනවද, පැවිද්දන් විසින් නොකළ යුතු දේ නොකරනවද, සිවුරු නොලැබුණයි කියල නොතැවෙනවද, සිවුරු ලැබුණම ඒවායේ නොඇලී තෘෂ්ණාවෙන් මුලා නොවී නුසුදුසු විදිහට සිවුරු සෙවීමේ වරද දකිමින් සිවුරු පරිභෝග කරනවද, ඒ කාරණය තමයි මෙයින් අදහස් වෙන්නෙ.

තමන්ට ලැබිච්ච සිවුරකින් සතුටු වීමේ ගුණය නිසා අත්තුක්කංසන (තමන් උසස් කොට සැලකීම) පරවම්භන (අනුන් හෙළා දැකීම) නොකරනවද, ලෝභයි කියල අන්‍ය භික්ෂූන් පහත් කරල කතා නොකරනවද, චීවර සන්තුෂ්ඨියේ ගුණ කීම ආදියට දක්ෂ වෙනවද, අලස නොවී සිහි නුවණින් යුක්තව කටයුතු කරනවද, ඒක පෞරාණික වූ අග්‍ර වූ ආර්යවංශ ධර්මයේ පිහිටීමක්. ඒ කියන්නෙ ඈත අතීතයේ, බුද්ධ කාලයේ පටන්ම තිබිච්ච එකක්.

02. ඉතරීතර පිණ්ඩපාත සන්තුට්ඨිතාව - යම් භික්ෂුවක් ප්‍රණීත හෝ නීරස ආහාරයකින් සතුටු වෙනවද, ලැබුණු ආහාරයකින් සතුටු වීමේ ගුණ කියනවද, ආහාර ලබා ගැනීමට එක්විසි අනේසන ධර්මවල නොයෙදෙනවද, පැවිද්දන් විසින් නොකළ යුතු දේ නොකරනවද, ආහාර නොලැබුණයි කියල නොතැවෙනවද, ආහාර ලැබුණම ඒවායේ නොඇලී තෘෂ්ණාවෙන් යුක්ත නොවී ආහාර වළඳනවද, ඒක තමයි මේ කාරණයෙන් අදහස් වෙන්නෙ.

ඒ වගේම තමන්ට ලැබුණු ආහාරයකින් සතුටු වීමේ ගුණය නිසා අත්තුක්කංසන (තමා උසස් කොට සැලකීම) පරවම්භන (අනුන්හෙලා දැකීම) නොකරනවද, පිණ්ඩපාත සන්තුෂ්ටියේ ගුණ කීම ආදියට දක්ෂ වෙනවද, අලස නොවී සිහි නුවණින් යුක්ත වෙනවද, ඒක ආර්යවංශ ධර්මයේ පිහිටීමක්.

03. ඉතරීතර සේනාසන සන්තුට්ඨිතාව - තමන්ට ලැබුණු සේනාසනයෙන් සතුටු වීම, එහි ගුණ කීම, සේනාසන නිසා එක්විසි අනේසනයන්ට අයිති අයෝග්‍ය දේ නොකිරීම, හොඳ සේනාසන නොලැබුනයි කියල පසුතැවීමෙන් නොසිටීම, හොඳ සෙනසුනක් ලැබුණත් එහි නොඇලී තණ්හාවට යට නොවී වාසය කිරීම තමයි මෙයින් අදහස් කරන්නෙ.

ඒ වගේම තමන්ට ලැබුන සෙනසුනකින් සතුටු වීමේ ගුණය නිසා තමන් උසස් කරල අනුන් පහත්

කරල කතා කිරීමෙන් වැළකිලා, අලස නොවී සිහි නුවණින් වාසය කිරීම උතුම් ආරියවංශ ධර්මයේ පිහිටීමක්.

04. භාවනාරාමතාව යම් පැවිද්දෙක් භාවනාවට සතුටු වෙනවනම්, භාවනාවේ ඇලී වාසය කරනව නම්, කෙලෙස් ප්‍රහාණයට සතුටු වෙමින් කෙලෙස් පහ කිරීමේ ඇලී වාසය කරනව නම්, ඒ ගුණයෙන් අත්තුක්කංසන, පරවම්භන කියන පාපී අදහස් ඇතිකර නොගන්නව නම්, භාවනාවේ දක්ෂව අලස නොවී සිහි නුවණින් වාසය කරනව නම් ඒක පෞරාණික ආර්‍යවංශ ධර්මයක්.

මේ ආර්‍යවංශ ධර්ම ගැන තවත් බොහෝ විස්තර තිබුණත් ඉතා කෙටි විවරණයක් තමයි මේ සඳහන් කළේ. මේ විස්තර කළ ප්‍රමාණයෙන්වත් මේ ධර්ම ආරක්ෂා කරගෙන කටයුතු කරන්න පැවිද්දා උත්සාහ වෙන්න ඕන.

**ලාභ සත්කාර බලාපොරොත්තුවෙන්, තමන් ළඟ නැති ගුණ දක්වීම ආදී කුහකකම් නොකර, ඇති ගුණයක් වුණත් ලාභ සත්කාර බලාපොරොත්තුවෙන් ප්‍රකට නොකළ යුතුයි. ඒ වගේම ලාභ අපේක්ෂාවෙන් අනුන්ට බොරු ස්තුති කිරීම, බොරු හිතවත්කම් දක්වීම, තමන්ට ප්‍රත්‍ය ලැබෙන විදිහට යම් යම් දේවල් කියල අනුන් මුලා කිරීම පැවිද්දා විසින් නොකළ යුතුයි.**

ඒ වගේම සම්මාදම් කිරීම, ගිහියන් වගේ යැපීම සඳහා වෙද හෙදකම් කිරීම, සාස්ත්‍ර කීම, කේන්ද්‍ර බැලීම, වස් කවි, සෙත් කවි, මන්ත්‍ර ගුරුකම් කිරීම, දෙවියන් ඇදහීම භික්ෂූන්ට කිසිසේත් ගැලපෙන්නෙ නෑ. හැබැයි මෙතනදි දෙවියන් ඇදහීම කියන්නෙ නිවන් දකීම සඳහා බුදුන් වහන්සේ වෙනුවට දෙවියන් ඇදහීම. එහෙම නැතිව තමන්ගෙ යම් කිසි වෙනත් කාරණාවක් මුල් කරගෙන දෙවියන්ට පුද පූජා ආදිය තැබීම මේ කාරණයට අයිති වෙන්නෙ නෑ.

ධූතාංග සමාදානය

ධූතාංග සමාදානයත් භික්ෂුවට ඉතා ප්‍රයෝජනවත්. අල්පේච්ඡතාදී ගුණ ඇතිකර ගන්න, සීලයට අතිරේක වශයෙන් පිරිය යුතු ධූතාංග 13 ක් සඳහන් වෙනවා. අරියවංශ ධර්මවලින් ඉහත විස්තර කළ ඉතරීතර චීවර සන්තුෂ්ටිතාවය පිළිබඳ ධූතාංග දෙකක්, පිණ්ඩපාත සන්තුෂ්ටිතාවය පිළිබඳ ධූතාංග පහක්, සේනාසන සන්තුෂ්ටිය නම් තුන්වන අරියවංශ ධර්මය පිළිබඳ ධූතාංග 5 ක්, වීර්ය පිළිබඳ එක් ධූතාංගයක් වශයෙන් ධූතාංග 13 විස්තර වෙනවා.

තෙචීවරිකාංගය සහ පාංශුකූලිකාංගය කියන ධූතාංග දෙක තියෙන්නෙ චීවර සන්තුට්ඨිතාවය පිළිබඳව. පිණ්ඩපාතිකාංගය, සපදානචාරිකාංගය, ඒකාසනිකාංගය, පත්ත පිණ්ඩිකාංගය, ඛලුපච්ඡා භත්තිකාංගය කියන ධූතාංග පහ තියෙන්නෙ පිණ්ඩපාතය පිලිබඳව.

අරඤ්ඤිකාංගය, රුක්ඛමූලිකාංගය, අබ්භෝකාසිකාංගය, සෝසානිකාංගය, යථා සන්තතිකාංගය කියන්නෙ සේනාසන පිළිබඳ ධූතාංග පහ. නේසජ්ජිකාංගය කියන්නෙ භාවනාරාමතාව කියන ආර්‍යවංශයට අයිති ධූතාංගය. මේ 13 සිවුපසය සහ භාවනාවට සම්බන්ධ නිසා මේවා භික්ෂුවගේ නිවන් මගට උපකාර ධර්මතා වෙනවා.

මේ ධූතාංග තමන්ට කැමති කාලයක් ආරක්ෂා කරන්න පුළුවන්. දින බොහෝ ගණනක් හෝ එක් දිනක් හෝ තමන්ට කැමති කාලයක් ආරක්ෂා කරන්න



පුළුවන්. ධූතාංග සමාදන් වුනොත් දිවි හිමියෙන් රකින්න ඕන කියල නියමයක් නෑ. සික පද කැඩීමෙන් වැරදි සිද්ධ වෙනව වගේ ධූතාංග කැඩීමෙන් වරදක් සිද්ධ වෙන්නෙ නෑ. ඒ වගේම ධූතාංග සමාදන් වෙන්න තවත් කෙනෙක් ළඟට යන්න අවශ්‍යතාවයක් නෑ. තමන්ටම අධිෂ්ඨාන කරගෙන ආරක්ෂා කරන්න පුළුවන්.

(1) පිණ්ඩපාතිකාංගය

මේක සාමණේර උපසම්පදා භේදයකින් තොරව සියලු දෙනාටම රකින්න පුළුවන් ධූතාංගයක්. "අතිරේක ලාභං පටික්ඛිපාමි පිණ්ඩපාතිකංගං සමාධියාමි" කියල, අතිරේක දාන ප්‍රතික්ෂේප කරල පිඬු සිගා ලැබෙන දෙයකින්ම යැපෙනවා කියල අධිෂ්ඨාන කරගෙන මේ ධූතාංගය රකින්න පුළුවන්.

ඒ වගේම ධූතාංග ආරක්ෂා කරනකොට උත්කෘෂ්ට, මධ්‍යම, මෘදුක වශයෙන් ආකාර 3 කින් රකින්න පුළුවන්. උත්කෘෂ්ට වශයෙන් රකිනකොට අනිකුත් ආරාධනා දානාදිය කිසිවක් බාර ගන්න බෑ. ඒවා බාර ගත්තොත් ධූතාංගය කැඩෙනවා. යම් දායකයෙක්, අද පිණ්ඩපාතෙ වඩින්න අවශ්‍ය නෑ, විහාරයට දානය ගේන බව දන්වල, දානය ගෙනාවට පසුව ඒ දානය වැළඳුවොත් මේ ධූතාංගය උත්කෘෂ්ට විදිහට රැකෙන්නෙ නෑ.

මධ්‍යම වශයෙන් ධූතාංගය රකින කෙනාට දායකයන්ගේ ඉල්ලීමකින් ගෙනාපු දානය එක් දිනක් වළඳන්න පුළුවන්. ඊට වඩා ඒ වගේ දාන පිළිගත්තොත් ධූතාංගය කැඩෙනවා. මෘදුක වශයෙන් රකින කෙනාට දෙවනි දවසට ගේන දානයත් වළඳන්න පුළුවන්. මේ ධූතාංගය මධ්‍යම, මෘදුක වශයෙන් රකින කෙනාට කැමති විදිහට විහරණ සුවය ලබන්න බැරි බවත්, උත්කෘෂ්ට වශයෙන් රකින කෙනාම ඒ සුවය ලබන බවත් සඳහන් වෙනවා.

මේ කාරණය තේරුම් ගන්න අතීතයේ සිදු වෙච්ච කතාවක් මේ විදිහට දක්වන්න පුළුවන්. උත්කෘෂ්ට වශයෙන් පිණ්ඩපාතිකාංගය රකින භික්ෂුවක් මධ්‍යම, මෘදුක වශයෙන් ධූතාංග රකින වෙනත් භික්ෂූන් දෙනමකට අරියවංශ දේශනාව අහන්න යන්න කතා කළා. එක නමක්, දායක මහත්තයෙක් විහාරයට දානයක් ගේන බව දන්වල තිබුණ නිසා එන්න බැරි බව ප්‍රකාශ කළා. අනිත් හිමිනම, හෙටට බාරගත් දානයක් තියෙන නිසා එන්න බැරි බව දැනුම් දුන්නා. මේ නිසා ඒ දෙනමම ධර්ම රසයෙන් පිරිහුන බවත්, උත්කෘෂ්ට විදිහට ධූතාංගය රැකපු භික්ෂුව ධර්ම රසය වින්ද බවත් සඳහන් වෙනවා. (සබ්බං රසං ධම්ම රසෝ ජිනාති - සියලු රසයන්ට වඩා ධර්ම රසය උතුම්ය)

(2) සපදාන චාරිකාංගය

සපදාන චාරිකාංගය කියන්නෙ, ගෙපිළිවෙල නොඉක්මවා පිඬුසිඟා වැඩීම. දුප්පතුන්ගේ ගෙවල් මග හැරල පොහොසත් ගෙවල්වලට යාමෙන් හොඳට ප්‍රණීතව දානය ලැබෙයි කියල බලාපොරොත්තුවක්, වෙන් කිරීමක් නැතුව පිඬුසිඟා වැඩීම තමයි මේ ධූතාංගයේ ලක්ෂණය.

හැබැයි යම් ගමක හෝ වීථියක උපද්‍රව තියෙනවනම්, ඒ ගමේ හෝ වීථියේ නොයෑමෙන් මේ ධූතාංගය බිඳෙන්නෙ නෑ. යම් ගෙදරක, වීථියක, ගමක දානය සඳහා කිසිවක් ලැබෙන්නෙ නැත්නම් ඒක නොසලකා යෑමේ වරදක් නෑ. යම් තැනක දානය ලැබෙනවනම් ඒ ස්ථානය මග හරින්නෙ නැතිව යන්න ඕන.

මහ මග යන සපදාන චාරිකා භික්ෂුව, පිඬු සිගා යන වෙලාව ආවම ඒ ගම ඉක්මවීම සුදුසු නෑ. ඒ ගමෙන් දානයට කිසිවක් ලැබුණෙ නැත්නම්, ලැබුණු

දේ ප්‍රමාණවත් නැත්නම් ගම් පිළිවෙලින් පිඩු සිඟා වඩින්න ඕන.

(3) <u>ඒකාසනිකාංගය</u>

නොයෙක් ආසනවල වාඩි වෙලා දානය වළඳන්නෙ නැතිව, එක ආසනයක පමණක් වාඩි වෙලා දානය වැළඳීම ඒකාසනිකාංගය කියල හඳුන්වනවා. මේක උත්කෘෂ්ට වශයෙන් රකින කෙනා, එකම ආසනයක ඉඳගෙන යම් භෝජනයකට අත ගැහුවොත් එයින් පිටත කිසිම ආහාරයක් ගන්නෙ නෑ. ගිතෙල් ආදියක් දුන්නොත් බෙහෙත් පිණිස මිසක් ආහාර පිණිස ගන්න බෑ.

මේ ධූතාංගය මධ්‍යම වශයෙන් රකින කෙනා, එකම ආසනයක ඉඳගෙන වළඳල අවසන් වෙනකල් ලැබෙන දේ ගන්නවා. මෘදුක වශයෙන් රකින කෙනා, වළඳන ආසනයේ වාඩි වෙලා ඉන්න තාක් ලැබෙන භෝජන වළඳනවා. ඒ භික්ෂුව ආසන පරින්තික කියලත් හඳුන්වනවා. එක ආසනයක ඉඳගෙන වළඳල තවත් ආසනයක වාඩි වෙලා යම් ආහාරයක් වැළඳුවොත්, ඉහත තුන් දෙනාගෙම මේ ධූතාංගය බිඳෙනවා. මේ ධූතාංගයේ ආනිසංස වශයෙන් නිරෝගී බව, ශරීරයට දුකක් නැති බව, සැහැල්ලු පැවතුම් ඇති බව, කාය ශක්තිය ඇති බව, සුවසේ වසන බව, රස තෘෂ්ණා දුරු කළ බව, අල්පේච්ඡතාදී ගුණයන්ට අනුලෝම බව කියන කාරණා ලබන්න හේතු වෙනවා.

(4) <u>පත්ත පිණ්ඩිකාංගය</u>

වළඳන සියල්ල පාත්‍රයේම වැළඳීම පත්ත පිණ්ඩිකාංගය විදිහට හඳුන්වනවා. මේක රකින කෙනා පාත්‍රය හැර වෙනත් භාජන දන් වළඳන්න පරිහරණය නොකළ යුතුයි. පැන් පානය කරනකොට වෙනත් බඳුනක් පාවිච්චි කළාට ධූතාංගය බිඳෙන්නෙ නෑ. කැඳ, කිරි පැනි වගේ දියාරු දේවල් පවා පාත්‍රයේම වළඳන්න ඕන. එකට මිශ්‍ර වීමෙන් වළඳන්න අපහසු දේවල් නම් වෙන වෙනම වැළඳුවට වරදක් නෑ.

පිණ්ඩපාතිකාංගය, ඒකාස-නිකාංගය, පත්ත පිණ්ඩිකාංගය කියන ධූතාංග තුනම එකවර සමාදන් වෙලා රකින්න පුළුවන්. මේ ධූතාංග උත්කෘෂ්ට විදිහට රකින කෙනා, උක් හප හැර වෙනත් කිසිම රොඩ්ඩක්වත් ඉවත දාන්නෙ නැතිව වළඳන්න ඕන. මස් මාළු කටු, කෙසෙල් ලෙලි ආදිය වළඳන්න පෙර ඉවත් කරගෙන ඉන්න ඕන. වළඳන්න පටන් ගත්තට පස්සෙ ඉවත් කරන්න බෑ. මොකද ඉතිරි නැතිව වළඳන්න ඕන නිසා.

බත් පිඩු, මස් මාංස, කැවුම් ආදිය කැබලි නොකර වළඳන්න බෑ. ඒවා වළඳන්න පෙර, කැබලි කරල සකස් කර ගන්න ඕන. මධ්‍යම විදිහට ධූතාංගය රකින කෙනාට, වළඳනකොට කඩාගෙන වැළඳුවට වරදක් නෑ. මෘදු වශයෙන් රකින කෙනාට පාත්‍රයේ තියා ගන්න පුළුවන් ඕනෑම දෙයක් අතින් හෝ දත්වලින් කඩාගෙන වළඳන්න පුළුවන්. ඒ නිසා මේ දෙන්නා හස්ත යෝගී, පත්ත යෝගී වශයෙන් නම් කරල තියෙනවා. මේ ධූතාංගය රකින භික්ෂුව පාත්‍රය හැර දෙවෙනි භාජනයක යම් ආහාරයක් වැළඳුවොත් ධූතාංගය කැඩෙනවා.

මේ පත්ත පිණ්ඩිකාංග ධූතාංගය රැකීමේ ආනිසංස වශයෙන් නා නා රස තෘෂ්ණා දුරු වීම, ආහාර වැළඳීමෙන් ජීවිතය රැක ගන්නවා කියන ප්‍රයෝජනය පමණක් සැලකීම, පිඟන් ආදී වෙනත් භාජන පරිහරණයේ කරදර අඩු වීම, එක භාජනයක සංඥාව පමණක් තියෙන නිසා සිතේ විසුරුණු බව නැති වීම,



අල්පේච්ඡතාදී ගුණ දියුණු වීම පෙන්වා තියෙනවා.

(5) <u>ඛලුපච්ඡාභත්තිකාංගය</u>

මේ ධූතාංගය උපමා කරල තියෙන්නෙ හිමාලයේ ඉන්න ඛලු කියන පක්ෂියෙක් මුල් කරගෙන. ඒ පක්ෂියා ඉස්සෙල්ලම ආහාර ගන්න ගිහින් හොටෙන් ගෙඩියක් ගන්නවා. ඒ ගෙඩිය බැරි වෙලාවත් බිම වැටුනොත් නැවතත් ඒක ඇහිඳ ගන්නෙ නෑ. අන්න ඒ ස්වභාවය තමයි මේ ධූතාංගයෙන් පෙන්වන්නෙ.

ඒ කියන්නෙ මේ ධූතාංගය සමාදන් වෙච්ච භික්ෂුව, පවාරණ කරපු භෝජන නැවත කැප කරගෙන වැළඳීම සුදුසු නෑ. පවාරණ භෝජන කියන්නෙ උපසපන් භික්ෂූන් වළඳමින් ඉන්නකොට ළඟට ගෙනාවම ප්‍රතික්ෂේප කරපු බත්... ආදී ආහාර. ඒ කියන්නෙ පාත්‍රය අතින් වහල ප්‍රතික්ෂේප කරපු ආහාර, අත හැරපු ආහාර. එතකොට පාත්‍රයේ තියෙන ටික විතරයි ගන්නෙ. නැවත ඉල්ලන්නෙ නෑ. අවශ්‍ය ප්‍රමාණය අරගෙන ඉතිරි ඒවා ප්‍රතික්ෂේප කළාම නැවතත් ඒවා ඉල්ලන්න යන්නෙ නෑ. ඒ නිසා පවාරණ කරපු ආහාර කැප කරගෙන වැළඳීමෙන් මේ ධූතාංගය බිඳෙනවී

මේ ධූතාංගයෙත් ආනිසංස රාශියක් තියෙනවා. අතිරික්ත භෝජන වැළඳීමෙන් විය හැකි ඇවැත් සිදු නොවීම, එක බත් පිඬකින් හෝ යැපෙන නිසා බඩජාරිකමක් ඇති නොවීම, කැප කරගෙන වලඳනවා කියල පරෙස්සම් කරගෙන වළඳන ආහාර නැති බව, නැවත ආහාර සෙවීමක් නැති බව, අල්පේච්ඡතාදී ගුණ ඇති වීම ආනිසංස විදිහට දක්වන්න පුළුවන්.

(6) <u>අරඤ්ඤිකාංගය</u>

මේ ධූතාංගය සමාදන් වෙච්ච භික්ෂුව ග්‍රාමාන්ත සේනාසන අතහැරල ආරණ්‍යයේ අරුණ ගෙවන්න ඕන. ඒ කියන්නෙ සාමාන්‍යයෙන් උදේ පාන්දර සූර්යා උදා වෙන්න පෙර කාලයේ. අන්න ඒ අරුණ නැගෙන කාල සීමාවෙදි ආරණ්‍යයේ ඉන්න ඕන. උත්කෘෂ්ට වශයෙන් රකින කෙනා ආරණ්‍යයේම අරුණ ගෙවන්න ඕන. මධ්‍යම වශයෙන් රකින කෙනාට වස් කාලය තුළ ග්‍රාම වාසීව ඉන්න පුළුවන්. මෘදු විදිහට රකින කෙනාට වස්සාන, හේමන්ත කියන ඍතුවල මාස 8 ක් ගමේ වාසය කරන්න පුළුවන්. මේ තුන් දෙනාම ඒ ඒ කාල තුළ ආරණ්‍යයෙන් ඇවිත් ග්‍රාමාන්ත සේනාසනයක බණ අහමින් ඉන්නකොට අරුණ නැගුණත්, බණ අහල යනකොට අරුණ නැගුණත් ධූතාංගය බිඳෙන්නෙ නෑ. මොකද ධර්ම දේශනාවට තියෙන විශේෂත්වය නිසා. නමුත් ධර්ම දේශකයන් වහන්සේ දේශනාව අවසන් කරල ආපසු වැඩියට පස්සෙ, මොහොතක් නිදාගෙන ඉඳල යනව කියල හිතාගෙන අරුණ නැගෙන-කොට ඉඳීමෙන් හෝ කැමැත්තෙන්ම ග්‍රාමාන්ත සේනාසනයේ අරුණ නැගෙ-නකොට ඉඳීමෙන් ධූතාංගය බිඳෙනවා.

ආරණ්‍ය වාසයත් බොහෝ ආනිසංස ලබන්න හේතු වෙනවා. ආරණ්‍යයේ වාසය කරමින් ආරණ්‍ය සංඥාව මෙනෙහි කිරීම නොලැබූ සමාධිය ලබා ගැනීමටත්, ලැබූ සමාධිය රැක ගැනීමටත් හේතු වෙනවා. ආරණ්‍යවාසී භික්ෂුවට තථාගතයන් වහන්සේ ප්‍රසංසා කරනවා. අසප්පාය රූපාදියෙන් සිත වික්ෂිප්ත නොවීම, විවේකයේ පුරුදු ඇති නිසා බිය නැති වීම, ජීවිත ආසාව දුරුවීම, විවේක සුවයේ රස වළඳන කෙනෙක් වීම ආරණ්‍ය වාසයේ ආනිසංස විදිහට පෙන්වා තියෙනවා.

(7) රුක්ඛ මූලිකාංගය

මේ ධූතාංගය සමාදන් වෙච්ච භික්ෂුව රාජ්‍ය සීමාවේ පිහිටි ගස්, දෙවියන් වාසය කරනවා කියල මිනිස්සු අතර සම්මත කරගෙන පුද පූජා තියන ගස්, ලාටු වගේ දේවල් ලබා ගන්න ගස්, වවුලන් වගේ සතුන් වාසය කරන ගස්, සිදුරු තියෙන ගස්, විහාර මැද පිහිටි ගස් අත්හැරල විහාර කෙලවරක වගේ විවේකීව ඉන්න සුදුසු ගහක් සොයාගෙන මේ ධූතාංගය රකින්න ඕන.

උත්කෘෂ්ට වශයෙන් රකින කොට තමන් කැමති ගහක් තෝරගෙන ඒකෙ කුණු රොඩු ඉවත් කරල ගහ යට වාසය කරන්න පුළුවන්. හැබැයි ගහ යට තවත් කෙනෙකුට කියල සකස් කරවගන්න පුළුවන්කමක් නෑ. මධ්‍යම වශයෙන් ධූතාංගය රකින කෙනාට, කෙනෙක් ලවා ගස මුල සුද්ධ පවිත්‍ර කරල සකස් කරව ගන්න පුළුවන්. මෘදු විදිහට රකින කෙනාට ආරාමයේ ඉන්න අය හෝ සාමණේර අය කැඳවල සුද්ධ පවිත්‍ර කරවගෙන වැලි ඉහල, ආවරණ වගේ දේවල් බැඳල දොරවල් දාගෙන වාසය කරන්න පුළුවන්. ඒ කියන්නෙ වහලක් නැතිව සිවුරක්, ඉටි රෙද්දක් වගේ දේකින් වටේට ආවරණය කරගන්න පුළුවන්. එහෙම නැත්නම් සත්තු සර්පයන්ගේ පැමිණීම වළක්වන්න මැටිවලින් වටේට තාප්පයක් වගේ බැඳගන්න පුළුවන්. මේ තුන් දෙනාම හෙවිලි කරපු ගෙයකට ආවොත් ධූතාංගය බිඳෙනවා.

ඒ වගේම ගස් යට වාසය කිරීමෙන් ආනිසංස කීපයක් ලබන්න පුළුවන්. "රුක්ඛ මූල සේනාසනං නිස්සාය පබ්බජ්ජා" කියන දේශනය අනුව, පැවිද්ද කියන්නෙ රුක්ඛ මූල සේනාසනය. ගස් යට වාසය ඉතා පහසුයි. ඕන තරම් ගස් තියෙන නිසා රුක් මුල් සෙනසුන් සුලබයි. නිරවද්‍යතාවයෙන් යුක්තයි. ඒ කියන්නෙ හැම වෙලේම ගෙයක් දොරක් වගේ මිනිස්සු "මම, මගේ" කියල අල්ලගෙන ඇගිලි ගැහීමේ ස්වභාවයක් රුක්මුල්වලට නෑ. මමත්වයක් නෑ. මගේ ගහ, මගේ කැළය කියල එහෙම අදහස් එනව අඩුයි. ගෘහ නිවාස ආදියේ එන වාස්තු දෝස එන්නෙත් නෑ. ඒ වගේම රුක්ඛමූල සේනාසනවල වාසයට බුද්ධාදී උතුමන් වහන්සේලා ප්‍රසංසා කරල තියෙනවා. ආවාස මසුරුබව ඇති වෙන්නෙ නෑ. නිතර කොළ ආදිය වැටිල තියෙන නිසා අනියත බව මැනවින් පහළ කරගන්න පුළුවන්. අලුතෙන් හැදීම, ප්‍රතිසංස්කරණය වගේ පළිබෝධ නෑ. දෙවියන් සමග වාසය කිරීමකුත් වෙනවා. ඒ කියන්නෙ ඒ අවට වෘක්ෂ දේවතාදිය ඉන්නව නම් ඒ අයගේ රැකවරණය, ආශිර්වාදය ලැබෙනවා. ඒ වගේම අල්පේච්ඡතාදී ගුණ දියුණු කර ගන්න උපකාර වන නිසා මේ ධූතාංගය සමාදන් වෙලා වාසය කිරීම ඉතා යෝග්‍යයි.

(8) අබ්භෝකාසිකාංගය

හෙවිලි කරපු ගෙවල් හෝ ගස් යට වාසයත් අත්හැරල, එලිමහනේ වාසය කිරීම තමයි මේ ධූතාංගයෙන් කියවෙන්නෙ. මේ ධූතාංගය සමාදන් වෙලා රකින භික්ෂුවට පොහොය කරන්න උපෝසථාගාරයට ඇතුළු වුනාට වරදක් නෑ. පොහොය ගෙට ගියාම වැස්ස ඇති වුනොත් වැස්ස පායනකල් ඉඳල පිට වෙලා යන්න ඕන. දාන ශාලාවට, ගිණිහල් ගෙට ඇවිත් වත් පිළිවෙත් කිරීමට, වත් පිළිවෙත් ඉගෙනීමට, ඉගැන් වීමට ගෙයකට ඇතුළු වුනාට, එළියට දමල තියෙන ඇඳ පුටු ආදිය ගේ ඇතුළට දැමීම වගේ කටයුතු සඳහා ගෙයක් ඇතුළට පිවිසුනාට



ධූතාංගය කැඩෙන්නෙ නෑ. මාර්ගයේ වඩිනකොට වෙනත් භික්ෂුවකගේ පිරිකර ආදිය අතේ තියේනම්, වැස්සෙන් නොතෙමීමට මාර්ගය අසල තියෙන ශාලාවකට යන්න පුළුවන්. අතේ පිරිකර ආදියක් නැත්නම් ඒ වගේ ශාලාවකට යනකොට වේගයෙන් නොගිහින් පියවි ගමනින් යන්න ඕන.

මේ ධූතාංගය උත්කෘෂ්ට වශයෙන් රකින කෙනා ගෙයක්, පර්වත ගුහාවක්, වෘක්ෂයක් ඇසුරු කරගෙන වාසය කළොත් ධූතාංගය බිඳෙනවා. හැබැයි සිවුරුවලින් වටේ ආවරණය කරගෙන විසීමේ නිදහස තියෙනවා. මොකද එතකොටත් අබ්භෝකාසි හෙවත් අභ්‍යවකාශය කියන එක තියෙනවා. වහලක් හෙවිලි නොකර හිටියම ඒක බිඳෙන්නෙ නෑ.

මධ්‍යම වශයෙන් රකින කෙනාට වෘක්ෂ, පර්වත, ගෙවල් ඇසුරු කරන්න පුළුවන් වුනත් ඒවායේ ඇතුලට පිවිසෙන්න ඉඩක් නෑ. ඒ කියන්නෙ හදිසියේ වැස්සක් වගේ ආවොත් විතරක් ඒ වගේ ස්ථානයක් ඇතුළට නොගිහින් පිට ඉඳන් නොතෙමී ඇසුරු කරන්න පුළුවන්. මෘදු විදිහට රකින කෙනාට කටාරම් කොටල නැති ගල් ලෙන්, තුනීවට සෙවිලි කරපු මඩු, ඉටිරෙදි ගෙවල්, කුඹුරුවල හදල තියෙන අතහැර දමපු පැල් වගේ දේවල් ඇසුරු කරන්න පුළුවන්.

අබ්භෝකාසිකාංගයේ ආනිසංස විදිහට ආවාස පළිබෝධය නැතිවීම. ථීනමිද්ධය දුරුවීම, කිසි තැනක ඇල්මක් නැතිව විසීම, කැමති තැනකට කැමති වෙලාවක යෑමේ නිදහස, අල්පේච්ඡතාදී ගුණ දියුණු වීම දක්වන්න පුළුවන්.

(9) සෝසානිකාංගය

හැම රාත්‍රියක්ම සොහොනේ වාසය කිරීම සෝසානිකාංගය කියල හැඳින්වෙනවා. ඒ වගේම මළමිනී පුච්චන්නෙ නැති තැනක් සොහොන විදිහට ගන්න බෑ. මේ ධූතාංගයේදි සොහොන විදිහට ගන්නෙ මිනී දවපු තැනක්. ඉස්සෙල්ලම මිනී දවල දොළොස් වසරක් යනකල් ඒ ස්ථානයේ මිනී පිච්චුවෙ නැතත් සොහොනක් විදිහට සලකනවා.

සොහොනේ වාසය කරන භික්ෂුව ඒ ස්ථානයේ සක්මන් මළු, කුඩාරම්, මඩු ආදිය හැදීම, ඇඳ පුටු ආදිය තියාගෙන, ජලය තියාගෙන බණ කීම් වගේ කටයුතු නොකළ යුතුයි. සොහොනේ වාසය කිරීම ටිකක් දුෂ්කර කටයුත්තක් නිසා විහාරයේ සංඝ ස්ථවිරයන් වහන්සේට, ගම්මුලාදෑනිට දන්වල වාසය කරන්න ඕන.

සොහොනේ සක්මන් කරන කොට ආදාහනය කරන ස්ථානය ඇහින් බලමින් සක්මන් කළ යුතු බව සඳහන් වෙනවා. සොහොනට යන කොට ප්‍රධාන මාර්ගවලින් නොයා කුඩා මාර්ගවලින් යන්න ඕන. ඒකට හේතුව තමයි තමන් සෝසානිකාංගය පුරන බව අනික් අයට හඟවන්න සුදුසු නැති නිසා. රාත්‍රී කාලයේ අමනුස්සයො කියල නොහිතෙන විදිහට දවල් කාලයේ තුඹස්, ගස් කොලන්, ගල් ගෙඩි ආදිය තියෙන තැන් මතක තියා ගන්න ඕන.

රාත්‍රී කාලයේ අමනුස්සයන් දැක්කොත් ගල් කැට ආදියෙන් නොගැසිය යුතු බව සඳහන් වෙනවා. හැම රාත්‍රියකම සොහොනට යන්න ඕන. එක් දිනක් හෝ නවතින්න බෑ. මේ ධූතාංගය රකින අය අමනුස්සයන් ප්‍රිය කරන තල, උඳුබත්, මස් මාංස, තෙල් බැදුම් වගේ දේවල් අනුභව කර යෑමෙන් වළකින්න ඕන. ඒ වගේ පුළුටු ආහාර අරගෙන සොහොනෙ ඉන්නකොට අමනුස්ස බැල්මවල් වැටෙන්න ඉඩ තියෙනවා. ඒ වගේම සොහොනේ තමන් කාලයක් යන එන කොට අමනුස්සයන් පස්සෙන් එන්න ඉඩ තියෙන නිසා කුල ගෙවල්වල (නිතර ඇසුරු කරන

දායක ගෙවල්) යාමෙන් වැළකී සිටීමත් යහපත්.

මේ ධූතාංගය උත්කෘෂ්ට විදිහට රකිනවනම්, දිනපතා මිනී පුච්චන සොහොනක් තෝර ගන්න ඕන. මධ්‍යම වශයෙන් රකින කෙනාට දිනපතා මිනී දවන තැන් අවශ්‍ය නෑ. මෘදු විදිහට රකිනවනම් සොහොන කියන සම්මතය තිබුණත් ප්‍රමාණවත්. සොහොනක් නොවන තැනක එක රාත්‍රියක් හෝ මේ තුන් දෙනාගෙන් කවරෙක් හෝ ගත කළොත් ධූතාංගය බිඳෙනවා.

සොහොනේ වාසය කිරීමත් භික්ෂුවට ඉතා ප්‍රයෝජනවත්. නිතර මළමිනී දකීමෙන් මරණය ගැන සිහිවෙන කොට ඒක අප්‍රමාදී වෙන්න හේතුවක් වෙනවා. ඒ වගේම අසුභ අරමුණු ලැබීම, කාම රාග දුරුවීම, කයේ යථාර්ථය නිතර දකින්න ලැබීම, ආරෝග්‍ය මදය, යෞවන මදය, ජීවිත මදය නැති වීම, බිය දුරු වීම, අමනුස්සයන්ට ප්‍රිය වීම, අල්පේච්ඡතාදී ගුණ දියුණු වීම වගේ අනුහස් සොහොනේ වාසය කරන භික්ෂුවට ලබන්න පුළුවන්.

(10) යථා සන්තතිකාංගය

මේ ධූතාංගය සමාදන් වෙච්ච භික්ෂුව, තමන්ට කියල සේනාසනයක් දුන්න නම් එයින් සතුටු වෙන්න ඕන. එතකොට වෙනත් සෙනසුනක ඉන්න භික්ෂුවක් එතනින් ඉවත් කරල ඒක තමන්ට ලබා ගන්න කටයුතු කරන්න බෑ.

මේ ධූතාංගය උත්කෘෂ්ට විදිහට රකින භික්ෂුව තමන්ට ලැබෙන සෙනසුන දුරද, ළඟද, අමනුස්ස උපද්‍රව තියේද, නයි පොළොන් ආදී සර්ප කරදර තියේද, උෂ්ණද සීතද කියල මේ කිසිවක් අහන්න බෑ. මධ්‍යම වශයෙන් රකින කෙනා එහෙම ඇහුවට වරදක් නෑ. මෘදු විදිහට රකිනවනම් ලැබෙන සේනාසනය බලල ඒක නොගැලපෙනව නම් වෙන් සෙනසුනකට යන්න පුළුවන්.

ලද දෙයින් සතුටු බව, අවවාදයට නැමුණු බව, කවුරු හරි ඉන්න සෙනසුනකින් ඒ කෙනා වෙනත් තැනකට නොයවන නිසා අනික් අයට හිතෛෂී බව, ඒ නිසාම තමා තුළ කරුණා විහරණය ඇති වීම, හීනයි, ප්‍රණීතයි කියන අදහස දුරුවීම, ඇලීම් ගැටීම් දුරු වීම, බොහෝ බලාපොරොත්තු නැති බව, අල්පේච්ඡතාදී ගුණ දියුණු වීම කියන ආනිසංස මේ ධූතාංග රකින භික්ෂුවට ලැබෙනවා. ඒක නිවනටත් උපනිශ්‍රයක් වෙනවා.

(11) නේසජ්ජිකාංගය

මේ ධූතාංගය සමාදන් වුනාම ඇඟ දිග හැරල ඇඳන් වගේ ආසනවල නිදා ගන්න බෑ. යාම, ඉඳීම, සිටීම කියන ඉරියව් තුනෙන් පමණක් කාලය ගත කරන්න ඕන. නමුත් ඉඳගත් ඉරියව්වෙන් නින්ද ගියාට මේ ධූතාංගය බිඳෙන්නෙ නෑ. නින්ද නොගියත් බිම හෝ ඇල වුනොත් ධූතාංගය බිඳෙනවා.

නිදාගන්නෙ නැතිව පළඟක් බැඳල සෘජුව සිත පිහිටුවාගෙන ඉන්න කොට මාරයාගේ හදවත කම්පා කරන බවත් සඳහන් වෙනවා. ඒ කියන්නෙ මාරයා හැම තිස්සෙම බලන්නෙ ලෞකික සුවයක්. අනිත් අයත් ලෞකික සුවයන්ට පොළඹවන්න පුළුවන්නම් මාරයා කැමතියි. නමුත් සිත සෘජු කරගෙන ධ්‍යාන සුවයෙන්, සමාධි සුවයෙන් ඉන්න කොට මාරයාට කරන්න දෙයක් නැතිව යනවා. එහෙම කෙනෙකුට කරදර කරල ලෞකික පැත්තට පොළඹවන්න අමාරුයි. ඒ නිසා නිදියාමෙන් වැළකී සිටින භික්ෂුවට සෙය්‍ය සුඛ, ඵස්ස සුඛ අතහැරල ආරද්ධ වීර්යෙන් (පටන් ගන්නා ලද වීර්යෙන්) නිරාමිස ප්‍රීති සුඛ විඳින්න පුළුවන්. මේ සෙය්‍ය සුඛ, ඵස්ස සුඛ කියන්නෙ නිදා ගැනීම නිසා එන යහන් සුවය, යහනක සැතපීම නිසා එන නිදි සුවය. නමුත් මනස පූර්ණ සමාධියට එනකොට නිරාමිස සමාධි සුවයෙන් ඉන්න පුළුවන්. සියළු කර්මස්ථානවල යෙදිල වාසය කරන බව, දුටුවන් පහදවන ඉරියව් ඇති බව, යහපත් ප්‍රතිපත්ති වඩන බව කියන ආනිසංස මේ ධූතාංගය රකින භික්ෂුවට ලැබෙනවා.

මේ සියළු ධූතාංග ආර්ය මාර්ගය වඩන භික්ෂුවට කුසල ක්‍රියා වෙනවා. කෙලෙස් කම්පා කරන ධර්ම විදිහටත් නම් කෙරෙනවා.

ඒ වගේම ධූතවාදී නොවූ ධූත පුද්ගලයා, ධූතවාදී වූ ධූත නොවන පුද්ගලයා, ධූතවාදී නොවූ ධූතත් නොවූ පුද්ගලයා, ධූතවාදී වූ ධූතත් පුද්ගලයා වශයෙන් කොටස් 4 ක් ඉන්න බව සඳහන් වෙනවා.

බුද්ධ කාලයේ වැඩ හිටපු බක්කුල හාමුදුරුවො ධූතාංග ධාරීව හිටපු උතුමෙක් වුණත් අනිත් අයට ධූතාංග සමාදන් වෙන්න අවවාද අනුසාසනා කළේ නෑ. මේ තමයි ධූතවාදී නොවූ ධූත පුද්ගලයා. උපනන්ද හිමි ධූතාංග ආරක්ෂා කළෙත් නෑ. හැබැයි අනිත් භික්ෂූන් වහන්සේලාට ධූතාංග සමාදන් වෙන්න අවවාද අනුසාසනා කළා. මේ තමයි ධූතවාදී වූ ධූත නොවන පුද්ගලයා. ලාලුදායි හාමුදුරුවො මේ දෙකෙන්ම තොර කෙනෙක්. තමන් ධූතාංග සමාදන් වුනෙත් නෑ. අනිත් අයට ඒ සඳහා අනුසාසනා කළෙත් නෑ. ඒ තමයි ධූතවාදී නොවූ ධූතත් නොවූ පුද්ගලයා. සැරියුත් මහ රහතන් වහන්සේ මේ දෙකෙන්ම යුක්ත වූ උතුමෙක්. තමන් ධූතාංග සමාදන් වෙලා රකින අතරම අනිකුත් භික්ෂූන් වහන්සේලාටත් ඒකෙ වටිනාකම පෙන්වා දීල ධූතාංග සමාදානයට අවවාද අනුසාසනා කළා. ඒ තමයි ධූතවාදී වූ ධූතත් පුද්ගලයා.

මේ ධූතාංග සමාදානය රාගය බහුල අයට වගේම මෝහ චරිත තියෙන අයට වඩා යෝග්‍යයි. ඒකට හේතුව තමයි දුක් ප්‍රතිපදාවක් වගේම සැහැල්ලු විහරණයක් වන නිසා දුක්ඛ ප්‍රතිපදාවෙන් රාගය ප්‍රහීණවීම. සුඛෝපභෝගීව ඉන්න කොට ඒක රාගයට ආහාරයක් වෙනවා. සල්ලේඛ හෙවත් සැහැල්ලු විහරණයෙන් අප්‍රමාදී පුද්ගලයාගේ මෝහය සංසිඳෙනවා.

සල්ලේකය කියන එක ප්‍රඥාවන්තයාට ලැබෙනවා. ප්‍රඥාව තියෙන කොට අප්‍රමාදය ලැබෙන නිසා මෝහය පිහිටන්නෙ නෑ. අරඤ්ඤිකාංගය සහ රුක්ඛ මූලිකාංගය ද්වේශ බහුල අයට ගැලපෙනවා. මෙයින් පුද්ගල සම්බන්ධතා අඩු වෙන නිසා ගැටීම් අඩු වෙන්නත් ඒක හේතුවක් වෙනවා.

මහා කාශ්‍යප මහ රහතන් වහන්සේ කියන්නෙ මහා පුරිසයෙක්. පිප්ඵලී මානවක නමින් ගිහි කාලයේ භද්දාකාපිලානි කුමාරිය එක්ක විවාහ වෙලා මධු රාත්‍රියේදී පවා වීතරාගීව හිටපු බව සඳහන් වෙනවා. මේ දෙන්නා ගිහි ගෙදර වාසය කළේ සහෝදරයෙක් සහෝදරියක් සමග කටයුතු කරන ආකාරයට. මේ විදිහට කාමයන්ගෙන් වෙන් වෙලා ගිහි ගෙදර ටික කාලයක් වාසය කරල දෙන්නම පැවිදි වෙස් අරගෙන බුදු සසුනේ මහ රහත් උතුමන් බවට පත් වුනා.

ධූතාංග 13 ම රැක්ක එකම මහා පුරිසයා තමයි මහා කාශ්‍යප මහ රහතන් වහන්සේ. ඒ කියන්නෙ අධිෂ්ඨාන කරගෙන, අත් හැර නොදා ඒ ඒ අවස්ථාවල මේ 13 ම රැක්කා. උදාහරණ විදිහට කාලයක් ආරණ්‍යයේ වාසය කරනවා. ඊළඟට ගල් ගෙයක. තවත් කාලයක් සොහොන්වල. මේ විදිහට පිරිනිවන් පාන කල්ම උන්වහන්සේ ධූතාංගධාරීව තමයි වැඩ වාසය කළේ. අර්හත්වයට පත්වීමෙන් පසුව පවා ධූතාංග රැකීමෙන් ඉවත් වුනේ නෑ. දවසක් තථාගතයන් වහන්සේ, කාශ්‍යප දූන් ඔය දුෂ්කර ප්‍රතිපත්තිවලින් මිදුනට කමක් නෑ කියල වදාළ අවස්ථාවක කාශ්‍යප හිමියන් පැහැදිලි කළේ, අනිකුත් භික්ෂූන් වහන්සේලාට ආදර්ශයක් පිණිස පිරිනිවන් පාන තුරා තමන් ධූතාංගධාරීව වාසය කරන බව. ධූතාංගධාරී භික්ෂූන් අතර අග තනතුර ලැබුවෙත් උන්වහන්සේ.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**
**071-6839346**

# ස්නායු දුර්වලතා ඇතුළු ප්‍රධාන රෝග රැසකට පස් පියුම්වලින් ප්‍රත්‍යක්ෂ ඔසුවක්...
































අද වෙනකොට රටේ ලෝකයේ ස්නායු දුර්වලතා නිසා පීඩා විඳින අය බහුලයි. චුති - පටිසන්ධියත් එක්කම උප්පත්තියෙන් එන ස්නායු දුර්වලතා හැර, මනුස්සයින්ගෙ ප්‍රයෝග විපත්ති නිසා ඇතිවෙච්ච ස්නායු ආබාධ තමයි අද බොහෝ කොටම දකින්න තියෙන්නෙ. ඒ කියන්නෙ විවිධ වස විස වැදීම් නිසා, වස විස මිශ්‍ර ආහාරපාන නිසා, එහෙම ☞

නැත්නම් යම් කිසි හදිසි අනතුරු නිසා සිද්ධ වෙච්ච ස්නායු දුර්වලතා. අංශභාගය, හෘදයාබාධ, ගැස්ට්‍රයිටිස් හෙවත් අම්ල පිත්ත ප්‍රදාහය, දියවැඩියාව, ආතරයිටීස්, පෙනහලු ආබාධ කියන මේ රෝගත් මේ වෙනකොට සමාජයේ බහුල වෙලා තියෙනව වගේම මේ සමහරක් රෝග සඳහාත් ස්නායු දුර්වලතා බලපානවා. ඒ වගේම අධික කේන්තියටත් මේ ස්නායු දුර්වලතා බලපානවා.

කොටින්ම කිව්වොත් ස්නායු දුර්වලතා කියන්නෙ තවත් රෝග රැසකට හේතු වන, මුළු ශරීරයේම ක්‍රියාකාරීත්වයට බලපාන තත්වයක්. කර්ම මූලිකව හටගත්තත්, මේ වගේ සමහර රෝග හට ගන්නෙ කර්මජවම නෙවෙයි. ඒ කියන්නෙ විශේෂයෙන් චුති පටිසන්ධියත් එක්කම එන රෝග නෙවෙයි, ප්‍රවෘත්ති විපාක විදිහට එන රෝග. අන්න ඒ වගේ කර්මජ නොවන මේ වගේ රෝග සඳහා ප්‍රයෝග සම්පත්තියෙන් කරගන්න පුළුවන් ඖෂධයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. මේ ඖෂධයත් වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙත් සමාධියෙන් මතු කරගෙන, දැනටමත් සාර්ථකව අත්හදා බලල ප්‍රතිඵල අත්දකින්න ලැබිල තියෙනවා. හැබැයි අර කලින් කිව්ව වගේ **කර්ම විපාකවලට යටත්ව තමයි සාර්ථක වීම සිද්ධ වෙන්නෙ.**

මේ සඳහා අවශ්‍ය වෙන්නෙ රතු නෙළුම්, සුදු නෙළුම්, රතු ඕලු, සුදු ඕලු හෝ කුමුදු, නිල් මානෙල් කියන පස් පියුම් සහ හරංකහ කියන අමුද්‍රව්‍ය. මෙතනදි සුදු ඕලු හොයාගන්න බැරිනම් ඒ වෙනුවට තමයි කුමුදු ගන්නෙ. ඒ වගේම අනුපාතයක් විදිහට ගත්තම මේ මල් වර්ග පහෙන් හැම 1 කින්ම වියළි මල් 1kg බැගින් ගන්න ඕන. ඒ සඳහා හරංකහ අමුවෙන් මුළු ගස් පිටින්ම 6kg ක් අවශ්‍ය වෙනවා. හැබැයි මේ කිව්වෙ අනුපාතයක්. ඒ නිසා මේ අනුපාතය එන විදිහට අමුද්‍රව්‍ය අඩු වැඩි කරල තමන්ට ඕන ප්‍රමාණයන්ගෙන් ගන්න පුළුවන්. උදාහරණයක් විදිහට වියළි මල්වලින් 100g බැගින් ගත්තොත් අමු හරංකහ 600g ක් අවශ්‍ය වෙනවා.

ඒ වගේම මේ මල් ගන්න කොටත් අවස්ථා 3 කින්ම ගන්න පුළුවන්. ඒ කියන්නෙ පිපිච්ච මල්, පිපෙන්න පෙර දින මල් සහ පිපුනට පසු දින මල් කියන ආකාර 3 න් ම ගන්න පුළුවන්. පිපුනට පසු දින කිව්වම, මල් පරවෙන්න පෙර කඩාගත්තම ප්‍රමාණවත්. ඒ මල් ගන්න කොට මලේ නටුව හැර අනික් සියලුම කොටස් (මුළු මලම) ගන්න ඕන. මේ ඖෂධය සඳහා ගන්නෙ වේලිච්ච මල් නිසා ඉස්සෙල්ලම මේ මල් අරගෙන, මල් පෙති සහ රේණු එකින් එක ගලව ගත්තම ඔක්කොම එකට මිශ්‍ර කරල පහසුවෙන්ම වේලගන්න පුළුවන්. මොකද නැත්නම් මල් පිටින්ම වේලන්න ගියොත් අපහසුයි, ඉක්මනට වේලගන්න අමාරුයි. ඒ නිසා හොඳින් වේලුනාට පස්සෙ කුඩු කරගන්න බොහොම පහසුයි. සාමාන්‍යයෙන් කුඩු කරගන්න පුළුවන් ගානට වේලගත්තම ප්‍රමාණවත්. එහෙම කුඩු කරල පෙනේරයකින් හලාගන්න ඕන.

ඊළඟට හරංකහ මුළු ගස් පිටින්ම ගලවගෙන හොඳට හෝදල කොටල ඒ ඉස්ම ටික පෙරාගන්න ඕන. ඉස්ම ගන්න පහසු වෙන්න වතුර බෝතල් 3 ක් විතර (6kg නම්) එකතු කරන්න පුළුවන්. ඒකත් ගන්න අමුද්‍රව්‍ය අනුපාතය අනුව අඩු වැඩි කරගන්න පුළුවන්. ඒ විදිහට හොඳට මිරිකගත් හරංකහ ඉස්මෙන් අර පස් පියුම් කුඩු අඹරගන්න ඕන. ගුලි කරන්න අමාරු තරම් තෙතමනය වැඩිනම් වියළන යන්ත්‍රයකින් පවනේ ($50^{\circ}$ C' පමණ උෂ්ණත්වයක) හෝ මඳ අව්වෙ වේලගන්න පුළුවන්. ඒ මිශ්‍රණයෙන් කෝපි ගෙඩි තරම් ප්‍රමාණයේ ගුලි හදල මඳ අව්වෙ වේලගත්තම ඒක තමයි ඖෂධය වෙන්නෙ. ඒ ගුලි උදේ, දවල්, රාත්‍රී 1 බැගින් කෑමට පෙර හෝ පසු මාස 6 ක් පමණ යනකල් පාවිච්චි කරන්න ඕන. කිසිම අතුරු ආබාධයක් නැති නිසා, අවශ්‍ය නම් ඊට වඩා වැඩි කාලයක් ගත්තයි කියලත් ගැටළුවක් නෑ.

දැන් මේ ඖෂධය පාවිච්චියෙන් අංශභාගය, දියවැඩියාව, කොලෙස්ටරෝල්, අම්ලපිත්ත ප්‍රදාහය, ආතරයිටීස්, හෘදයාබාධ, පෙනහලු ආබාධ, පාකින්සන් රෝගය ඇතුළු ස්නායු දුර්වලතා දුරු වෙන්න හේතු වෙනවා. ඒ වගේම මුළු ශරීරයේම ඉන්ද්‍රිය දුර්වලතා දුරු වෙලා ඉන්ද්‍රියන් පෝෂණය වෙලා, සියලු ඉන්ද්‍රියන් ක්‍රමානුකූලව ක්‍රියාත්මක වෙන්න පටන් ගන්නවා. සිරුර ප්‍රබෝධමත් වෙනවා. රුධිර පීඩනය සමබර වෙනවා. මානසික ප්‍රබෝධය ඇති වෙනවා. සමේ වියළි බව සමනය වෙනවා. කේන්තියෑමටත් මේ ඖෂධය හොඳයි.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බෙත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චිත්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ. වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.)

0777-193907 / 071-8585621 / 078-4891332 / 077-1620072

# තණ්හා නිරෝධය

අවිද්‍යාවත්, අසාර ආස්වාද වේදනාත් හේතුවෙන් තණ්හා උදා වෙනවා කියන කාරණය පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. උදා වෙන හේතුව නැති කළොත් නැවත උදා වෙන්නෙ නෑ. තණ්හා නිරෝධයි. ආස්වාද වේදනා උදා නොකරන්න නම් එහි යථා ස්වභාවය අවබෝධ කරගන්න ඕන. වේදනා හටගන්නෙ ස්පර්ශයෙන් (ඵස්ස පච්චයා වේදනා). ඇස, කන, නාසය...ආදී ඉඳුරන්ට, රූප, ශබ්ද, ගන්ධ... ආදී අරමුණු ස්පර්ශ වෙනවා. හැබැයි ඇසට රූප, කනට ශබ්ද... ආදී වශයෙන් කියන්නෙ විපාක ස්පර්ශය මිසක් ඵස්ස පච්චයා වේදනා කියන කොටසේ සංස්පර්ශයෙන් එන සංඵස්සජා වේදනා නෙවෙයි. විපාක ස්පර්ශය රහතන් වහන්සේටත් තියෙනවා. ඒ ස්පර්ශයට කැමැත්තෙන් බැඳුනොත් සංස්පර්ෂයක් ඇවිත් සංඵස්සජා වේදනාවක් හටගන්නවා. ඒක කාම (ඡන්දරාග) ස්පර්ශයකින් එන වේදනාවක්. අන්න ඒ වේදනාවට තමයි ලෝක සත්වයා බැඳෙන්නෙ. සංකල්පිත රාගය නිසා තමයි ඒ විදිහට බැඳෙන්නෙ. ඒ කියන්නෙ මනසින් ගොඩනගාගත් රාගයක් මිසක් ද්‍රව්‍ය වස්තුවල පවතින රාගයක් නෙවෙයි. බුදුන් වහන්සේ බාහිය සූත්‍රයෙන් (ඛු.නි. 1 කාණ්ඩය - 144 පිටුව) දේශනා කරල තියෙනවා, දිට්ඨේව දිට්ඨ මත්තං... ආදී වශයෙන් දැකීම, දැකීම් මාත්‍රයක් පමණයි කියල. මේ කාරණය හොඳින් තේරුම් ගන්න ඕන.

ඇස සකස් වෙලා තියෙන්නෙ කොහොමද? රූප සකස් වෙලා තියෙන්නෙ කොහොමද? ඒ දෙකේ ස්පර්ශය මොන විදිහද? නවීන විද්‍යාවට අනුව, සෛල කියන කුඩා ඒකක විශාල ගණනක් එකතු වෙලා, සියුම් පටක හැදිල ඒවා එකතු වෙවී පේශි, නහර ආදිය හැදිල, ඒවායේ එකතුවක සකස්වීම තමයි ඇස කියන ඉන්ද්‍රිය හැටියට හඳුන්වන්නෙ. නමුත් සෛලවලටත් වඩා කුඩා සුද්ධාෂ්ටකවලින් මේ ඉඳුරන් සකස් වෙලා තියෙන බව ධර්මයේ සඳහන් වෙනවා. සුද්ධාෂ්ටක දැකීම බුදු ඇසට



පමණක් ගෝචර වන දෙයක්. මේ සුද්ධාෂ්ටක පොදි වශයෙන් එකතු වෙලා පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන ඝනීභවන ධාතු හතර සකස් වෙලා තියෙනවා. සෛල කියන කුඩා ඒකක සකස් වෙලා තියෙන්නෙ ඒ කියන ධාතු හතරෙන්. මේ පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන ඝනීභවන ධාතු කොටස් හැම සංඛතයකටම උරුම කියන උපචය, සන්තති, ජරතා, අනිච්චතා (ස්ථිර නැති ස්වභාවය) න්‍යාය අනුව විනාස වෙලා යනවා. අන්තිමට සුද්ධාෂ්ටක දක්වාම බිඳිල යනවා.

කන බොන ආහාර පානවලින් ඕජස උරාගෙන, තියෙන සුද්ධාෂ්ටක විවිධාකාරයෙන් සකස් වෙනවා. මේ සුද්ධාෂ්ටක විවිධාකාරයෙන් සකස් වීම සිද්ධ වෙන්නෙ ඒ ඒ සත්වයාගෙ කර්ම ශක්තියෙන්. මොහොතක් පාසා ඇස ක්‍රියාත්මක වෙන නිසා මේ ක්‍රියාවලියත් නොකඩවා සිද්ධ වෙනවා. ඒ නිසා මොහොතක්වත් එකාකාරව පවතින ඇසක් නෑ. නමුත් සියළුම ධාතු කොටස් එකවර සුද්ධාෂ්ටක දක්වා බිඳෙන්නෙ නැති නිසා ඇසක් තියෙන බව පේනවා. යම් කිසි කාලයක් ගතවෙන කොට, මුලින් තිබුණ ඇසට වඩා ඇසේ මෙරීමක් සිද්ධ වෙලා තියෙන බව පේනවා. අනෙක් සියලුම ඉඳුරන්ගේ සකස් වීමත් මේ ආකාරයටම බව තේරුම් ගන්න ඕන. ඇසට ගෝචර වන රූප සකස් වීමත් මේ වගෙයි, මොහොතක්වත් එකාකාරව පවතින්නෙ නෑ. මියගිය ධාතු කොටස් අසූචි විදිහටත්, ඇසෙන් කබ කඳුළු, කනෙන් කලාඳුරු, නාසයෙන් සොටු, සමෙන් දහඩිය... ආදී වශයෙන් නව(9) දොරකින් පිට වෙනවා. බාහිර ලෝකයේ පවතින රූප සකස් වෙලා තියෙන්නෙ සත්වයාගේ මනස මූලික වීමෙන්. ඒ රූප දිරල යනකොට නැවත ප්‍රකෘතිමත් වීමක් සිද්ධ වෙන්නෙ නෑ. මේ පිලිබඳ දීර්ඝ පැහැදිළි කිරීමක් හෙළ බොදු පියුම 4,5,6, කලාපවලින් ඉදිරිපත් කරල තියෙනවා.

කිසිම ස්පර්ශයකින් හටගන්න වේදනාවක් එකාකාරව පවතින්නෙ නෑ. ස්පර්ශ වෙවී ඒ ස්පර්ශ මාත්‍ර අතීතයට ඇදිල යනවා. ක්‍ෂණිකව ඒ ස්පර්ශ මාත්‍ර රැහැනක් මනසින් සකස් කරල, පෙර මතක සටහන් සමග ගැලපීමෙන්, මෙබඳු වේදනාවක් දැනුනා කියන සංඥාවක් දෙනවා. මනසින් සකස් කරල දුන්න ස්පර්ශ මාත්‍ර සම්පිණ්ඩනයෙන් හැදෙන වේදනා මාත්‍රයට රාගයෙන් බැඳිල ආස්වාදයක් කියල සත්වයා මුලා වෙනවා. ආස්වාදය හොඳයි සුවයි සාරයි කියල අවිද්‍යාවෙන් ගන්න නිගමනය නිසා, ඒ ආස්වාදයම මතුවටත් විඳින්න ඇත්නම්... කියල යළි යළිත් ආස්වාදයටම හිත තියනවා. නමුත් ඒ ආස්වාදය කවදාවත් පූර්ණ වෙන්නෙ නෑ.

හරයක් නැති මෙබඳු ආස්වාදයන්ට මුල්වන සුඛ, දුක්, උපේක්‍ෂා වශයෙන් වේදනා ආකාර තුනක් පෙන්වනවා. සුඛ වේදනාවට තණ්හා වීමෙන්, තණ්හා වූ දේ අයිති කරගන්න, අයිති කරගත් දේ කැඩෙන්න බිඳෙන්න නොදී, කැඩී බිඳී විනාස වෙන්න නොදී ආරක්‍ෂා කරගන්න, වැඩි දියුණු කර ගන්න ගිහින් විවිධාකාර සංඛාර දුක්ඛයන් විඳිනවා. නමුත් ආස්වාදයට ඇති කැමැත්ත බලවත් නිසා ඒවා දුක් හැටියට සලකන්නෙ නෑ. කොච්චර දුක් විඳල අයිති කරගත්තත්, රැකගන්න උත්සාහ වීරිය කළත්, හැම ජාති ධර්මයකටම උරුම ධර්මතාවය අනුව ඒවා විපරිනාමයට පත් වෙනවා, කැඩෙනවා, බිඳෙනවා, විනාස වෙනවා. කැමති ☞

විදිහට පවත්වා ගන්න බැරි වෙලා දුකට අසහනයට පත්වෙනවා.

දුක් වේදනාවට විරුද්ධව සැප වේදනාවක් බලාපොරොත්තු වෙනවා. ඒ දුකෙන් මිදෙන්න ගැටෙනවා. දුක් වේදනාවට පටිඝ වෙලා ගැටෙන්න යනවා. පටිඝ කියන්නෙ බැඳීම නිසා එන ගැටීම. දුක් වේදනාවට බැඳෙන්න කැමති නැති වුනාම ඒකට ප්‍රතිචාරයක් විදිහට සුඛ වේදනාවක් හොයනවා. දුක් වේදනාවට හේතුව නිවැරදිව දකින්නෙ සිවු අරිසස් දැකපු ආර්ය ශ්‍රාවකයන්. පුහුදුන් නුවණින් වැරදි හේතුවක්ම අල්ල ගැනීමෙන්, නව(9) විධ අගාධයන්ට වැටෙනවා. ඒ හේතුවෙන් සසර බොහෝ දුක් විඳින්න හේතු සකස් වෙනවා. සැප වශයෙන් තණ්හා වෙන්නෙ, දුක් වශයෙන් පටිඝ වෙන්නෙ අවිද්‍යාව නිසා. තණ්හා නිරෝධ කරන්න නම්, මුලා සහගත ආස්වාදයේ සැබෑ ස්වරූපය අවබෝධ කරගන්න ඕන. එතකොට ඒකට ඇති කැමැත්ත අත්හැරෙනවා. තණ්හා නිරෝධ කරන මාර්ගය තමයි, ආස්වාදයන්ගේ අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය මෙනෙහි කිරීම, ඒ සඳහා සතර සතිපට්ඨානයෙන් යුක්තව අරි අටඟි මග වැඩීම.

ආස්වාද ලෝකයට තණ්හා වෙන්නෙ, ලෝකයේ සැබෑ ස්වරූපය නොදන්න නිසා. ආස්වාදයන් ප්‍රියයි, මධුරයි කියල හිතන තාක් කල් ලෝකය දුකයි කියල වැටහෙන්නෙ නෑ. මේ ප්‍රිය, මධුර ස්වභාවය තුළ තණ්හාව උපදිනවා, තණ්හාව පවතිනවා කියල බුදුන් වහන්සේ දේශනා කරනවා. "යං ලෝකේ පිය රූපං සාත රූපං එත්ථේසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති..."(පටිසං.ම.ප්‍ර.-1 කාණ්ඩය, 74 පිටුව) මේ ප්‍රිය මධුර ස්වභාවය මතු මතුත් විඳීමේ කැමැත්තට අවිද්‍යාව කියල කියනවා. මොහොතක් පාසා ගෙවී ගෙවී වැනසිලා යන වේදනා මාත්‍ර පිළිබඳව මනසින් සකස් කර දුන් මායා ආස්වාදයට හිත තියා ගැනීම, කවදාවත් සඵල වෙන්නෙ නැති මර උගුලක් කියල දකින්න ඕන. ආස්වාදය දුකක් කියල දකින්න ඕන. මොකද ආස්වාදය කියන්නෙ කවදාවත් පූර්ණ වෙන එකක් නෙවෙයි. ඒ වගේම සැප වටා තියෙන දුක දකින්න ඕන. ඒ කියන්නෙ වේදනා චෛතසිකයට දැනෙන දුක නෙවෙයි, ඒක කාටත් වැටහෙනවා. මරණය දුකයි, ලෙඩවීම දුකයි, වයසට යෑම දුකයි... ආදී වශයෙන් මේ කියන සම්මත දුක ආගම් භේදයකින් තොරව කාටත් වැටහෙනවා. ඒ දුක දැකල නිවන් දකින්න බෑ. ඒ නිසා සම්මා දිට්ඨියෙන්, ප්‍රඥාවෙන් "දුක්ඛං භයට්ඨේන" කියන බය අර්ථයෙන් දුක දකින්න ඕන.

මාළුවා රසවත් ඇම දකිනවා. නමුත් ඇම අමුනල තියෙන බිලී කොක්ක කියන මර උගුල දකින්නෙ නෑ. බිලී පිත්තවත්, බිලී බාන්නාවත්, ඔහු ළඟ තියෙන පැසවත් මාළුවා දකින්නෙ නෑ. සැප වටා තියෙන දුක කිව්වෙ, රසවත් ඇම කියන සැපය වටා තියෙන මේ බිලී කොක්ක, බිලී පිත්ත, බිලී බාන්නා, ඔහු ළඟ තිබුන පැස ආදියට. මේ වගේ සැපේ දුක කියන්නෙ සැප වටකරල තියෙන ආදීනව සමූහයට.

එක් අවස්ථාවක අන්‍ය පරිබ්‍රාජක පිරිසක් ගිනි ගොඩක් හදාගෙන, ඒ වටේ ඉඳගෙන කෙලෙස් තවනවා දැක්ක බුදු පියාණන් වහන්සේ ඔවුන්ගෙන් අහනවා, දැන් ඔබලාගේ කෙලෙස් කොපමණ තැවිලද කියල. ඔවුන්, දන්නෙ නෑ ස්වාමීනි කියල පිළිතුරු දුන්නා. තව කොපමණ තවන්න ඉතුරු වෙලා තියෙනවද කියල ඇහුවා. ඒත් දන්නෙ නෑ ස්වාමීනි කියල පිළිතුරු දුන්නා. ඔබලාගේ ගුරුතුමා දන්නවද කියල බුදු පියාණන් වහන්සේ නැවතත් විමසුවා. දන්නෙ නෑ ස්වාමීනි කියල පිළිතුරු දුන්නා.

බුදුන් වහන්සේ මේ වෙලාවෙදි අපූරු උපමාවකින් ඔවුන් කරන නිෂ්ඵල ක්‍රියාව පෙන්වා දුන්නා. සත් මහල් ප්‍රාසාදයක් තියෙනවා. ඒක කොච්චර උසද දන්නෙත් නෑ, තියෙන්නෙ කොහෙද දන්නෙත් නෑ, යම් කෙනෙක් ඒ ප්‍රාසාදයට නගින්න ඉනිමගක් බඳිනවා. ඔහු ඒ ප්‍රාසාදයට නගිනවා කියන කාරණය සිද්ධ වෙන්න පුළුවන්ද? ඔබලාගේ කෙලෙස් තැවීමත් ඒ වගෙයි කියල පැහැදිලි කරල දුන්නා. මෙන්න මේ වගේ නිවන් දකින්න නම්, නිවන කියන්නෙ මොන වගේ දෙයක්ද, නිවනට හිතකර අහිතකර දේ මොනවද, නිවන් දකින්න කරන්න ඕන මොනවද... ආදී කරුණු දැනගන්න ඕන. තණ්හාව නිරෝධ කරන්න නම්, තණ්හාව කියන්නෙ මොකක්ද, තණ්හාව ඇති වෙන්න හේතු මොනවද, තණ්හාව නැති කරගන්න කරන්න ඕන මොනවද කියන කරුණු දැන ගන්න ඕන.

මල් පහන් සුවඳ දුම් පූජා කරල බුද්ධ පූජා පැවැත්වුවට විතරක් මදි. ඒවා සිද්ධ කරල චිත්ත සමාධියක් ඇති වුනාම, පංච නීවරණ දුරු වුනාම, ඒ මොහොතෙ කලණ මිතුරු ආර්ය උත්තමයෙක්ගෙන් සද්ධර්මය ශ්‍රවණය කරන්න ඕන. මනා සිහි නුවණින් (යෝනිසෝ මනසිකාරයෙන්) යුක්තව ඒ ධර්මය ශ්‍රවණය කරල, දුක පිළිබඳව පෙර නොඇසූ විරූ දහම් ඇස පහළ වෙන්න ඕන. " දුක්ඛං භයට්ඨේන..." කියන බුද්ධ දේශනාව අනුව, බය අර්ථයෙන් දුක දකින්න ඕන. හේතු වාසනා තියෙන කෙනෙකුට මේ විදිහෙ ධර්ම දේශනාවක් ශ්‍රවණය කිරීමෙන්, සෝවාන් මාර්ග අනුගාමික හෝ සෝවාන් ඵලයට පත්වෙලා සදහටම සතර අපායෙන් නිදහස් ආර්ය ශ්‍රාවකයෙක් වෙන්න පුළුවන්.

ලෝකයා දුක දකින්න පුරුදු වෙලා තියෙන්නෙ වේදනා චෛතසිකයට දැනෙන දුක මුල් කරගෙන. ඒ කියන්නෙ ලෙඩ දුක්, කරදර, රෝග පීඩා ආදියෙන් දැනෙන, විඳින දුක. ඒක අන්‍යාගමික අයටත් දැනෙනවා. හැබැයි ආර්යන් ප්‍රඥාවෙන් දකින්නෙ දුක්ඛ ආර්ය සත්‍යය.

මව් කියා විශේෂ ගුණයක් නෑ, පියාගේ විශේෂ ගුණයක් නෑ ඒ අයත් අපි වගේම මිනිස්සු ඒ අයට වැඳිය පිදිය යුතු නෑ, ලොව සත්‍යය යථාර්ථය දත් ශ්‍රමණ බමුණන් නෑ, මරණින් මතු උපතක් නෑ... ආදී කරුණු දහයක් පිළිබඳව දස වස්තුක මිත්‍යා දෘෂ්ටියක පිහිටපු පිරිසක් ඉන්නවා. තවත් පිරිසක්, මව් කියා විශේෂ ගුණයක් ඇත, පියාගේ විශේෂ ගුණයක් ඇත... ආදී වශයෙන් දස වස්තුක මිත්‍යා දෘෂ්ටියෙන් වෙන් වෙලා, සම්මා දිට්ඨියක පිහිටල ඉන්නවා. බුදු කෙනෙක් ලෝකයට පහළ නොවුන කාලවලත් මෙබඳු ලෞකික සම්මා දිට්ඨියක් තියෙනවා. ඒක මරණින් මතු සුගතියට හේතු වෙනවා.

සදහටම සසර දුකින් මිදෙන ආර්ය සම්මා දිට්ඨිය විද්‍යමාන වෙන්නෙ බුද්ධ දේශනාවෙන්. දම්සක් පැවතුම් සූත්‍රයට අනුව ආර්ය සම්මා දිට්ඨියට පත්වෙන්න නම් දුක පිළිබඳව, තිපරිවට්ට වූ ද්වාදසාකාරවූ ඥාණ දර්ශනයක් සද්ධර්ම ශ්‍රවණයෙන් පහළ වෙන්න ඕන. "මේ දුක්ඛ ආර්ය සත්‍යයයි කියල, (ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා ... සංඛිත්තේන පඤ්චුපාදානක්ඛන්ධා දුක්ඛා ... )පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා, ඥාණය පහළ වුනා, ප්‍රඥාව පහල වුනා, විද්‍යාව පහළ වුනා, ආලෝකය පහළ වුනා

කියල දකිනවා. මේ දුක පිරිසිඳ දත යුතුයි කියල, පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල දකිනවා. මේ දුක පිරිසිඳ දැනගත්තා කියල, පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල මේ විදිහට දුක්ඛ ආර්ය සත්‍යය පිළිබඳව ඤාණ තුනක් පහළ වෙන්න ඕන.

මේ දුක්ඛ සමුදය ආර්ය සත්‍යයයි කියල (යායං තණ්හා පෝනෝ භවිකා... ආදී වශයෙන් විග්‍රහ කෙරෙන කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා කෙරෙහි, මතු උපතකට හේතු කාරක වන්නා වූ ආකාරයෙන් ඒ ඒ ආස්වාදයන්හි කැමැත්තෙන් බැඳීම) පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල දකිනවා. මේ දුක්ඛ සමුදය පහකළ යුතුයි කියල, පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල දකිනවා. මේ දුක්ඛ සමුදය පහකළා කියල, පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල මේ විදිහට දුක්ඛ සමුදය ආර්ය සත්‍යය පිළිබඳව ඤාණ තුනක් පහළ වෙන්න ඕන.

මේ දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යයයි කියල (පෙර සඳහන් කළ සියලු තණ්හාවන් කෙරෙහි ශේෂයක් නැතිවන ආකාරයට, යළි උදා වීමක් නොවන ලෙසට නොඇල්ම, අත්හැරීම, මිදීම) පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල දකිනවා. මේ දුක්ඛ නිරෝධය ප්‍රත්‍යක්‍ෂ කළ යුතුයි කියල, පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල දකිනවා. මේ දුක්ඛ නිරෝධය ප්‍රත්‍යක්‍ෂ කළා කියල, පෙර නොඇසූ දහම් ඇස පහල වුණා... ආලෝකය පහල වුණා කියල මේ විදිහට දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය පිළිබඳව ඤාණ තුනක් පහළ වෙන්න ඕන.

මේ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යයයි කියල (අරි අටඟි මග) පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල දකිනවා. මේ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව භාවනා කළ යුතුයි (වැඩිය යුතුයි, අනුගමනය කළ යුතුයි ) කියල, පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල දකිනවා. මේ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව භාවනා කළා කියල, පෙර නොඇසූ දහම් ඇස පහළ වුනා ... ආලෝකය පහළ වුනා කියල, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය පිළිබඳව ඤාණ තුනක් පහළ වෙන්න ඕන. මේ විදිහට සිවු අරිසස් දහම පිළිබඳව තුන් ආකාර වූ (තිපරි වට්ටං) ඤාණ 12ක් (ද්වා දසාකාරං ඤාණ දස්සනං) පහළ වුනාම සදහටම සතර අපා දුකෙන් නිදහස් ආර්ය ශ්‍රාවකයෙක් වෙනවා. ඒ ඤාණ 12 පූර්ණ වුනාම අරිහත් ඵලය.

දැන් කවුරුවත් කලබල වෙන්න අවශ්‍ය නෑ, අපට මේ වගේ ඤාණ පහළ වෙලා නැහැනෙ කියල. බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා, පූර්ව භාග නුවණ පළමුව පහළ වේ, මග නැණ පසුව පහළ වේ කියල. සද්ධර්ම ශ්‍රවණයෙන් ලෝකය අනිච්චයි, දුක්ඛයි, අසාරයි කියන කාරණය අවබෝධ වුනාට පස්සෙ, ලෝක ආස්වාද පිළිබඳව තිබුණ මහා බලාපොරොත්තු ගොඩක් ඉබේම



අතහැරිල යනවා. බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා, මේ දර්ශන ඤාණය ලබපු පුද්ගලයට බිඳ හරින්න තියෙන කෙලෙස් ප්‍රමාණය, අත මහ මුහුදට දාල ඉහළට ගත්තම ඇඟිලි තුඩක රැඳෙන වතුර බින්දුව තරම් ස්වල්පයයි කියල. ඒ වගේම අනෙක් ලෝක සත්වයින්ට බිඳ හරින්න තියෙන කෙලෙස් ප්‍රමාණය මහා සාගරයේ වතුර තරම් කියල. නමුත් මේ අතහැරිච්ච කෙලෙස් පිළිබඳ වැටහීමක් එන්නෙ, එදිනෙදා ජීවිතයෙදි පටිපදාව අනුගමනය කරගෙන යන අතරතුර හමුවන ගැටළුවලට මුහුණ දෙන ආකාරය විමසා බැලීමෙන්.

සිවු අරිසස් දහම පිළිබඳව, තිපරිවට්ට වූ ද්වාදසාකාර වූ ඤාණ දර්ශනය යම් කෙනෙකුට පහළ වුනාම ඒ අයට වැටහෙනවා, අසාර ආස්වාදයක් බලාපොරොත්තුවෙන් අනන්ත සසරේ අපි මොන තරම් දුක් කන්දක් විඳල තියෙනවද කියන කාරණය. පංච කාම ආස්වාදය, විස දමපු මත්පැන් බඳුනකට උපමා කරල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. ආර්ය සම්මා දිට්ඨියට පත් තැනැත්තා ආස්වාදය මර උගුලක් කියල වටහ ගන්නවා. එතැන් පටන්, ලෝකයාට හිංගි හිංසා කරල මම මොන ආස්වාදයක් ලබා ගන්නද කියල සත්ව හිංසාවෙන්, හොර මැරකමින් වැලකෙනවා. අනික් පවුල්වල සමගිය කඩල බිඳල දමල මම මොන කාම ආස්වාදයක් විඳින්නද කියල, කාම මිත්‍යා චාරයෙන් වෙන් වෙනවා. බොරුවෙන් අනුන් මුලා කරල, කේළමෙන් බිඳවල, පරුෂ වචනයෙන් සැඩ බවට පත් කරල, චාටු කථාවෙන්, හිස් වචනයෙන් සිත් දිනාගෙන, අයිති කරගන්න, මගෙ කරගන්න වටිනා හරවත් දෙයක් මේ ලෝකෙ තියෙනවද?

කැඩෙන බිඳෙන වැනසෙන, කඩා බිඳ දමන්න, වනසන්න පුළුවන්, කැඩිල, බිඳිල, වැනසිලා යන ධර්මතාවයක් උරුම කරගත්තා වූ මේ තුන් ලෝකයේ පවත්නා සියලු ජාති ධර්ම කෙරෙහි අත්හැරීමක්, නොඇල්මක් මිදීමක් සිද්ධ වෙනවා. ලෝකය අනාථ බවත්, ලෝකයෙන් මිදීම නාථ බවත් දකිනවා. මිච්ඡා දිට්ඨිය දැකල, මිච්ඡා දිට්ඨියෙන් වෙන් වෙලා, දෙආකාර වූ සම්මා දිට්ඨිය දැකල, ලෝකෝත්තර වූ සම්මා දිට්ඨියට පත්වුනා කියන්නෙ මේ මහා මානසික පෙරළීමට. එතැන් පටන් ජීවිතයේ හැම කටයුත්තකදිම ලෝකයේ අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ කියන ස්වභාවය දකිනවා. අරි අටඟි මගේ සම්මා දිට්ඨිය පිළිබඳ සම්මා දිට්ඨියට පත්වුන කෙනෙක් වෙනවා.

එදිනෙදා ජීවිතයෙදි කරන කියන කටයුතු කරන්න කියන්න කලින්, මේ කටයුත්ත හරයක් නැති, දස අකුසලයට වැටෙන එකක්ද, සතර අපාගත වෙන්න සිද්ධ වෙන එකක්ද කියල හොඳ සිහියෙන් හිතල බලල කටයුතු කරනවා. මේ තමයි සම්මා දිට්ඨිය පිළිබඳ සම්මා සතිය. හරයක් නැති, අකුසලයට වැටෙන කටයුත්තක් නම් වහාම එයින් වැලකෙනවා. ඒ සඳහා කරන යම් උත්සාහයක් වීර්යක් ඇත්නම්, ඒ තමයි සම්මා දිට්ඨිය පිළිබඳ සම්මා වායාමය.

කාම සංකල්පනා, ව්‍යාපාද සංකල්පනා, විහිංසා සංකල්පනා කියන්නෙ මිච්ඡා සංකල්පනායි, ඒවායින් වැළකීම ලෞකික සම්මා සංකල්පනායි, පංචකාම ආස්වාද ලෝකය අනිච්චයි, දුක්ඛයි, අනත්තයි, අසුබයි කියල දැනගෙන, අසාර ආස්වාදයක් ලබාගන්න අන්‍යයන්ට හිංසා පීඩා සිදුවන, තමන්ටත් දුක් විපාක ගෙනදෙන ආකාරයේ සංකල්පනා ගොඩනගන්නෙ නෑ කියල මිච්ඡා සංකල්පනාවෙන් වෙන් වෙනවා. අව්‍යාපාද, අවිහිංසා, නෙක්ඛම්ම (පංච කාම සංකල්පනාවන්ගෙන් නික්මීම) සංකල්පනා ඇතිකර ගන්නවා. එදිනෙදා ජීවිතයෙදි කාම සංකල්පනා ආදියක් පහළ වුනාම, ඒවායින් වැළකිලා ඉන්න නම්, මේක කාම සංකල්පනාවක්, ව්‍යාපාදයක්, විහිංසාවක් කියල දැන ගන්න මනා සිහියක් ඇත්ද, ඒ තමයි සම්මා සංකප්පය පිළිබඳ සම්මා සතිය. ඒවායින් වැලකීමට, දැහැමි වූ බුදු ගුණ, දම් ගුණ, සඟ ගුණ වැඩෙන සම්මා සංකල්පනා වැඩීමට යම් උත්සාහයක් වීර්යක් ගත යුතුද, ඒ තමයි සම්මා සංකප්පය පිළිබඳ සම්මා වායාමය.



බොරු, කේළම්, පරුස වචන, හිස් වචන කතා කිරීම තමයි මිච්ඡා වාචාව කියන්නෙ. යම් දෙයකට තණ්හා වෙලා, ඒ දෙය අයිති කරගන්න, බොරුවෙන් අනුන් මුලා කරල, කේළමෙන් බිඳවල, පරුෂ වචනයෙන් සැඩ බවට පත් කරල, නිසරු හිස් ආටෝප කතා (ප්‍රලාප) කියල කටයුතු කරන්නෙ මොකටද? එහෙම කරල අයිති කරගන්න වටිනා හරවත් දෙයක් ලෝකය තුළ තියෙනවද? මේ විදිහට ලෝක ආස්වාදයන්ගේ අසාර බව නුවණින් දැකල, බොරු, කේළම්, පරුෂ වචන, හිස් වචන කීමෙන් (මිච්ඡා වාචාවෙන්) වෙන් වෙනවා. තමන් අවබෝධ කරගත් ධර්මයේ වටිනාකම තේරුම් අරගෙන, තමන් ඇසුරු කරන අය අතරෙත් මේ දහම අවබෝධ කරගන්න සුදුසුයි කියල වැටහෙන පිරිසට එක දහම් පදයක් හෝ වටහල දෙන්න, සුචරිත දහම් වදනක්ම කියනවා. මේ තමයි මිච්ඡා වාචා දැනගෙන, මිච්ඡා වාචාවෙන් වෙන් වෙලා වඩන සම්මා වාචා පිළිබඳ සම්මා වාචා මාර්ග හංගය. එදිනෙදා ජීවිතයෙදි බොරු, කේළම්, පරුස වචන, හිස් වචන ආදිය කියන්න අවස්ථාවක් යෙදුනම, හොඳ සිහියෙන් දහම සිහි කරගෙන, එබඳු වචනයේ ආදීනවය සිහි කරගෙන, පරණ පුරුදු අතහැරල ඒවායින් වැළකිලා ඉන්නවා. මේ තමයි සම්මා වාචා පිළිබඳ සම්මා සතිය. ඒවායින් වැළකිලා ඉන්න යම් උත්සාහයක් වීර්යක් කරනවද, ඒ තමයි සම්මා වාචා පිළිබඳ සම්මා වායාමය.

පර පණ නැසීම, අන් සතු වස්තුව සොර සිතින් ගැනීම, කාමයෙහි වරදවා හැසිරීම කියන්නෙ මිච්ඡා කම්මන්තය. මේවායින් වැළකීම ලෞකික වූ සම්මා කම්මන්තය. පංච කාම ආස්වාදයේ අසාරත්වය නුවණින් දැනගෙන, අන්‍යයන්ට හිංසා පීඩා කරල ලබාගන්න තරම් වටිනා හරවත් ආස්වාදයක් ලෝකය තුල නැති බව දැනගෙන පර පණ නැසීමෙන්, සොරකමින්, කාමයෙහි වරදවා හැසිරීමෙන් වැළකෙනවා. යම් කෙනෙක් අනුන්ගෙ සැපතක් දැකල, අනේ ඒක මට ඇත්නම්... කියල හිතන්නෙ, ඒ දෙයට දැඩි ලෝභයෙන්. තමන් සතු වැඩිපුර දෙයක් කෙනෙකුට නොදෙන්නෙ, රැක ගන්නෙ ලෝබකම නිසා. ඒක පුහුදුන් ලෝක ස්වභාවයක්. ඒත් අනුන්ට අයත් දෙයක් තමන්ට ලැබෙනව නම්... කියල පතන්නෙ, උන්ට නොවේවා, මට වේවා කියන දැඩි ලෝභයෙන්. ඒක නුදුන් දේ සොර සිතින් ස්පර්ශ කිරීමක්. මේක දස අකුසලයෙන් එකක්. එබඳු දේකට තණ්හා වුනා නම්, අකුසල විපාක සිහි කරල, තණ්හා වුනේ ගෙවිල වැනසිලා ජරා මරණයට පත්වෙන දෙයකටනෙ කියල, උත්සාහයෙන් වීර්යෙන් ඒ තණ්හා සිත දුරු කරගන්න ඕන. මේ තමයි ආර්ය වූ සම්මා කම්මන්තය. එදිනෙදා ජීවිතයෙදි පර පණ නැසීමට, සොරකමට, කාම මිච්ඡා චාරයට අවස්ථාවක් ආවම ඒවායින් වැළකීමට මනා සිහියක් අවශ්‍යයි. ඒ තමයි සම්මා කම්මන්තය පිළිබඳ සම්මා සතිය. ඒ අරමුණුවලින් නික්මීමට යම් උත්සාහයක් වීර්යක් වඩනවද, ඒ තමයි සම්මා කම්මන්තය පිළිබඳ සම්මා වායාමය.

දස අකුසල් කරමින්, කරවමින්, අනුබල දෙමින්, වර්ණනා කරමින් මිච්ඡා දිට්ඨිය අනුව ගත කරන ජීවිතය කියන්නෙ මිච්ඡා ආජීවය. මිච්ඡා ආජීවය දැනගෙන, මිච්ඡා ආජීවය අතහැරල, සද්ධර්ම ශ්‍රවණයෙන් ආර්ය වූ සම්මා දිට්ඨියට පත්වෙලා, සියලු අකුසලයන් බැහැර කරන්න, කුසල් දහම් වඩන්න උත්සාහයෙන් වීර්යෙන් ගතකරන ජීවිතයක් ඇත්ද, ඒ දිවි පැවැත්ම තමයි සම්මා ආජීවය. සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව කියන මාර්ග හංග පහ(5) වැඩෙන කොට සම්මා සති, සම්මා වායාම කියන මාර්ග හංග දෙකත්(2) පරිවාර වෙමින් වැඩෙනවා. මේ මාර්ග හංග හත (7)වැඩීමේ ඵලය තමයි සම්මා සමාධිය.

නියම දහම් මගට යොමු වුනාට පස්සෙ අරි අටඟි මග වඩන්න, තණ්හා නිරෝධ කරන්න අපට කරන්න තියෙන්නෙ පොඩි වැඩ කොටසක්. බීජයක් හිටුවල ඒකෙ කඳ, කොළ, මල්, ගෙඩි ආදිය දකින්න ඕන නම්, කඳ හටගනීවා, කොළ හටගනීවා, මල් හටගනීවා, ගෙඩි හටගනීවා කියල පැතුවට ඒවා නිකම්ම හටගන්නෙ නෑ. ඒ ගහට වතුර, පොහොර, හිරු එළිය, වාතාශ්‍රය ලැබෙන්න සලස්වන එකයි කරන්න තියෙන්නෙ. ඒවා ලබා දීමේ හේතු - ඵලය තමයි කඳ, කොළ, මල්, ගෙඩි ආදිය හටගැනීම. ඒ හට ගැනීම ධර්මතාවයක්. අපට කරන්න තියෙන්නෙ උත්සාහයෙන් වීර්යෙන්, සිත සතර සතිපට්ඨානයේ පිහිටුවාගෙන එදිනෙදා වැඩ කටයුතු කරගෙන යෑම. එතකොට රාග, ද්වේශ, මෝහ මූලික වෙන සිතිවිලි, ක්‍රියා, වදන්වලින් වෙන් වෙන්න ඕන. දස අකුසලයෙන් වෙන් වෙලා කුසලයේ සිත පිහිටුවා ගන්න ඕන.

සිහිය පිහිටුවිය යුතු කාරණා හතර(4) තමයි සතර සතිපට්ඨානය කියන්නෙ. කායානු පස්සනා, වේදනානු පස්සනා, චිත්තානු පස්සනා, ධම්මානු පස්සනා. කාය+අනු+පස්සනා - ඵස්ස කියන්නෙ ස්පර්ශය. කාය කියන්නෙ ඇස, කන, නාසය, දිව, කය.

මේවාට රූප, ශබ්ද ගන්ධ... ආදී අරමුණක් ස්පර්ශ වුනාම, හොඳ සිහි කල්පනාවෙන් ඉඳල, ඒවා කෙරෙහි කැමැත්තෙන් බැඳුනොත් සිදුවන විපාකය යහපත්ද අයහපත්ද, හරයක් තියෙනවද, සතර අපාගත වෙන්න සිදුවෙන කාරණාවක්ද කියල ධර්මානුකූලව කර්ම ඵල විපාක, ආදීනව සිහි කරන්න ඕන. අයහපත් ප්‍රතිඵලයක් එන දෙයක් නම්, ඒ අරමුණට තණ්හා නොවී අතහරින්න පුළුවන් වෙන්නෙ, නිතර දහම ඇසුරු කරමින් අනිච්ච, දුක්ඛ, අනත්ත, කුසල් අකුසල් හඳුනා ගැනීමට කටයුතු කළ නිසා. ක්‍රියාව සිදු කරන්න කලින් මෙහෙම සිහි කරනව කියන්නෙ චිත්තානු-පස්සනාව. සිහි කළේ ධර්මානුකූලව නිසා ඒකට ධම්මානුපස්සනාව කියල කියනවා. කය හසුරුවන්නෙ යහපත් ප්‍රතිවිපාකයක් ලැබෙනව නම් ඒ සඳහා පමණයි. ඒ තමයි කායානුපස්සනාව. ඒ කරුණ හේතුවෙන් ලබන යම් සුඛ, දුක්, උපේක්ෂා සහගත වේදනාවක් ඇත්නම් ඒකත් අනිච්චයි, විපරිනාමයට පත්වෙනවා, දුකයි කියල දැනගෙන විඳිනවා. ඒකට කියන්නෙ වේදනානුපස්සනාව කියල. මේ විදිහට එදිනෙදා කටයුතු කරමින්, සතර සතිපට්ඨානයත්, අරි අටඟි මගත් වැඩීම පූර්ණ වුන දවසට තණ්හා නිරෝධ ගාමිණී පටිපදා මාර්ගය පූර්ණ වෙලා, තණ්හා නිරෝධයෙන් නිවන පූර්ණ වෙනවා.

බෝසතාණන් වහන්සේලා අසංඛ්‍ය කල්ප ගණන් පාරමිතා පුරල අවබෝධ කරගත් සත් දහම අපට විද්‍යමාන කරන්නෙ ආර්ය මහා සංඝ රත්නය. මුලින් පෙන්වා දුන් පිළිවෙලට ඒ සත් දහම ආර්ය ශ්‍රාවකයෙක්ගෙන්ම ශ්‍රවණය කළාම, මේ සම්බුදු පියාණන් වහන්සේලා දේශනා කළ ධර්ම මාර්ගය තමයි නිවනට එකම මග කියල, පළමුවෙන්ම ධර්මය දකින්න ඕන. ඒ ධර්මය තුළින් බුදුන් දකින්න ඕන. ඒකයි "යෝ ධම්මං එස්සති සෝ මං එස්සති..." කිව්වෙ. යමෙක් ප්‍රඥාවෙන් ධර්මය ස්පර්ශ කරයිද, ඔහු නිවනට යොමුවූ ධර්ම මාර්ගය ස්පර්ශ කරනවා. ධර්ම මාර්ගය අනුගමනය කරන්නා ඒ තුළින් බුදුන් දකිනවා. ඒ දකින බුදුන් කියන්නෙ අසීමිත වූ ගුණ කදම්බයක්. වචන පදවලින් ඒ ගුණ මෙසේය, මෙපමණයි කියල සීමා කරල විස්තර කරන්න බෑ. ඒ ධර්ම මාර්ගය හැර, නිවීමට, සැනසීමට උපකාර වන වෙනත් මාර්ගයක් අනන්ත සසරෙ අපට කවදාවත් මුණ ගැහිල නෑ කියන කාරණය ජීවිතයේ හැම මොහොතකදිම සිහි වෙනවා, වැටහෙනවා. ඒ නිසා "බුදු ගුණ අනන්තයි" කියනවා හැර "අරහං සම්මා සම්බුද්ධෝ..."ආදී වශයෙන් බුදු ගුණ වෙන් කරල, මේ නිසා අරහං වෙනව කියන්න බෑ. ඒ සත්දහම අපට විද්‍යමාන කරන ආර්ය මහා සංඝ රත්නයේ ගුණ දකින්න ඕන.

මේ ප්‍රඥා දර්ශනය ලබන්නෙ නැතිව භාවනා කිරීම නිවනට බාධාවක් වෙන්නත් පුළුවන්. ඒ ලෞකික භාවනා ක්‍රම තුළින්, බොහෝ ආයුස තියෙන බ්‍රහ්ම ලෝකවල උපදිනවා. ඒ අතරතුර මනුස්ස ලෝකයේ බුදුවරු පහළ වෙලා පිරිනිවන් පානවා. බ්‍රහ්ම ලෝකයේ ආයු පිරිහීමෙන් පස්සෙ ඒ අය නැවතත් පෙර කර්මානුරූපව ඉපදෙනවා. සසර දුකින් නිදහස් වීමක් නෑ. අබුද්ධෝත්පාද කාලයක ඒ ඉපදීම සිදු වුනොත්, කුසල් දහම් වඩන්නවත් අවස්ථාවක් නැති වෙනවා. නිවන් මග කියන්නෙ අත්හැරීම, නොඇල්ම, මිදීම කරන මගක්. ප්‍රඥාවෙන් බුදුන්, දහම්, සඟුන් දක්ක නම් ඒ අයට වැටහෙනවා, මේ සසරෙ අපි බොහෝ කල් දුක් වින්දෙ අවිද්‍යාව නිසයි, මේ හේතු ඵල දහම නොදැක්ක නිසයි කියන කාරණය. ඒ වගේම කාය සංඛාර, වචී සංඛාර, මනෝ සංඛාර කියන සසර පැවැත්මට ආහාර රැස් කළ නිසා කියන කාරණය වැටහෙනවා.

එහෙනම් දැන් කරන්න තියෙන්නෙ එදිනෙදා කටයුතු කරන කොට රාගයට, ද්වේශයට, මෝහයට හේතුවන දෙයක් අරමුණු වුනොත්, මනා සිහි නුවණින් ඒක තේරුම් අරගෙන ඒ අකුසල මූලය දුරු කර ගැනීම. ඒ කරුණට ගැලපෙන සුදුසු කර්මස්ථා-නයක් තෝරගෙන, ඒ මොහොතෙම ඒ රාග, ද්වේශ, මෝහ අරමුණු දැනගෙන, ඒවා වැඩෙන්න නොදී බිඳල දාන්න ඕන. අරමුණේ ස්වභාවය අනුව අසුභය වැඩීම, ආදීනව සිහි කිරීම, බුදු ගුණ සිහි කරල ඒ බුදු ගුණ තමා තුළින් පිහිටාවා කියල අධිෂ්ඨාන කිරීම වගේ සුදුසු ක්‍රමයක් යොදා ගන්න පුළුවන්. ඒ වෙලාවට යටපත් වෙලා නැවත දවසකින් දෙකකින් ඒ අරමුණ මතු වෙනකොට රාග, ද්වේශ, මෝහ නැගෙන්න පුළුවන්. ඒ නිසා හැම තිස්සෙම සතියෙන් ඉන්න ඕන.

මුලදී මේ විදිහට අරමුණු එන අවස්ථාවෙදිම සිහි නොවෙන්න පුළුවන්. පසුව නිවැරදි සිහියට ආවම රාග, ද්වේශ, මෝහ දුරු කරගෙන යන වැඩපිළිවෙල ක්‍රියාත්මක කරන කොට සතිය වැඩෙනවා. රාගක්ඛයෝ නිබ්බානං, ද්වේශක්ඛයෝ නිබ්බානං, මෝහක්ඛයෝ නිබ්බානං... කියන දේශනාවේ සත්‍යතාවය, ඒ ඒ අරමුණෙන් හිත නිදහස් වුනාම දැනෙන සහනය, සැහැල්ලුව මෙනෙහි කිරීමෙන් තමන්ටම වැටහෙනවා. මේ ප්‍රත්‍යවේක්ෂා කිරීම හරිම වැදගත්. ඒක ධම්ම විචය සම්බොජ්ජංගය, ප්‍රීති සම්බොජ්ජංගය වැඩීමට අවශ්‍යයි. රාග, ද්වේශ, මෝහ අනුෂය දුරු කරන මේ වැඩපිළිවෙල ක්‍රියාත්මක කරගෙන යත්දි, වචන වශයෙන් නොකිව්වට සත් තිස් බෝධි පාක්ෂික ධර්ම ඔක්කොම වැඩෙනවා. මේ සිද්ධ වෙලා තියෙන්නෙ, මේ මේ විදිහට මම උත්සාහ වීර්ය කරල ආව ගමනේ ප්‍රතිඵල නේද කියන කාරණය, හොඳින් හිත වැඩුනට පස්සෙ තමන්ටම වැටහෙනවා. කාගෙන්වත් අහන්න දෙයක් නෑ. දහම් දර්ශනයෙන් සෝවාන් වුන යම් කෙනෙක් සකදාගාමී වෙන්නත්, සකදාගාමී වුන තැනැත්තා අනාගාමී වෙන්නත්, අනාගාමී වුන තැනැත්තා අරිහත් වෙන්නත්, අරිහත් වුන තැනැත්තා ඉහාත්ම සුඛ විහරණයටත් කරන්න තියෙන්නෙ ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මෙනෙහි කිරීම කියල බුදුන් වහන්සේ දේශනා කරනවා. ඒ මග හැර නිවනට වෙනත් මගක් නැති බවත් දැන් වැටහෙනවා. ලෝකයේ අසාරත්වය මෙනෙහි කිරීමත්, නිවනේ ශාන්තිය මෙනෙහි කිරීමත්, රාග ද්වේශ මෝහ අනුෂය දුරු කරන මාර්ගය කියල අත්දැකීමෙන් වැටහෙනවා, ප්‍රත්‍යක්ෂ වෙනවා.

කරන්න තියෙන කටයුතු ටික උත්සාහයෙන් වීර්යෙන් කරගත්තම, අනන්ත සසරෙදි නොවිඳි සුවයක්, කාටවත් ණය නැති සුවයක් මෙලොවදීම විඳිනවා. ඒක වේදනා චෛතසිකයෙන් විඳින සුවයක් නෙවෙයි. මෙතෙක් කල් පටිච්ච සමුප්පන්නව හදාගත් දුක් දාහයන්ගෙන් මිදීමෙන් ලබන සුවයක්. මෙතෙක් කල් සසරෙදි වින්ද සුවයක් ඇත්නම් ලෝකෙටම ණය වුනා, ණය බරට මිරිකුනා, දුකෙන් දුකම වින්දා. නමුත් අවිද්‍යාව නිසා දුක පෙනුනෙ සුවයක් විදිහට. මේ වැරදි දැක්මෙන් මිදුන දවසට නියම ශාන්ත සුව විඳින මගට අවතීර්ණ වෙන්න පුළුවන් වෙනවා.

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 54 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය -**

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ♦ ඩබ්.ඒ තිලිණවතී මහත්මිය - කඩවත ♦ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - මාලබේ ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා - පොල්ගහවෙල ♦ එස්.එම් ජයසේකර මහතා - මාලබේ ♦ ඒ. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ♦ සුචරිත ආරියරත්න මහතා - වලස්මුල්ල ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය – පිටකෝට්ටේ ♦ පර්ෆෙක්ට් ඩිසයින් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/-♦ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ♦ ජනක රුවන් මහතා - ගරාඬුව, මාතර ♦ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ ඩබ්. ඒ මහින්ද ජයතිලක මහතා - වෙල්පල්ල - රු. 4,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2500/- ♦ ඩබ්. ප්‍රේමවතී මහත්මිය සහ ඩබ්. කේ නලිනසේකර මහතා - වලල්ලාවිට - රු. 2500/- ♦ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු.2,500/- ♦ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ ලීලාවතී විදානපතිරණ මහත්මිය - රත්න - රු. 2000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000 ♦ කුමාරි විජේකෝන් මහත්මිය - මීනුවන්ගොඩ - රු. 2000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2000/-♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ♦ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ♦ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා - එල්ලක්කල - රු.1,320/- ♦ ඕෂිනී පෙරේරා මහත්මිය සහ නමින්ද ලියනගේ මහතා - මීරිහාන - රු.1,000/- ♦ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ♦ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/-♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/-♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ අමිල බාලසූරිය මහතා - ඉහළ උඩුගම්පල - රු.1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - - රු. 1,000/- ♦ ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ♦ සෝමා කුලතුංග මහත්මිය - හඳපාන්ගොඩ - රු.1,000/- ♦ ඒ.ධර්මපාල මහතා - එල්ලක්කල - රු.1,000/- ♦ එච්. ඒ. ඉන්දික මදුරංග රූපසිංහ මහතා - මහකන්ද රු.1,000/- ♦ ප්‍රේමරත්න සමරනායක මහතා - බණ්ඩාරගම - රු. 1000/- ♦ සුජාන් කරස්නාගොඩ මහතා - ගම්පහ - රු. 1000/- ♦ ඒ. ඒ ගීතානි මහත්මිය - මහරගම - රු. 1000/- ♦ ශ්‍යාමා ගීතාංගනී සෙනරත් මහත්මිය - අබුඩාබි - රු. 1000/- ♦ සුරම්‍යා ගුණදාස මහත්මිය - රු. 1000/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1000/- ♦ මලිඳු සෙනවිරත්න මහතා - රු. 1000/- ♦ නම සඳහන් නොකළ පින්වතෙක් - බිබිල - රු. 1000/- ♦ ආර්. කේ විජේතිලක මහත්මිය - ගම්පල - රු. 1000/- ♦ මල්ලිකා විජේතිලක මහත්මිය - අරකාවිල - රු. 1000/- ♦ ඒ.ඒ සුමනා අමරසිංහ මහත්මිය - අලුත්ගම - රු. 1000/- ♦ සුනිමල් කුමාරදාස මහතා - අවිස්සාවේල්ල - රු. 1000/- ♦ එස්. එම් ප්‍රේමරත්න මහතා සහ පී. ඒ ඥානවතී මහත්මිය - හුණුමුල්ල - රු. 1000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවාන - රු. 1000/-♦ අසංගා විජයවර්ධන මහත්මිය ඇතුළු පවුලේ සැම - කොළඹ 05, තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, කුසුමාවතී ගුණතිලක මහත්මිය, ජී.එම් ගමගේ මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම

ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර මල්වාන මහතා - කෑගල්ල, අමලා මධුරි ගුණවර්ධන මෙනවිය - පින්නවල, අනුලා ජයසුන්දර මහත්මිය - නහකඩිය, ඩබ්.එම්. චන්ද්‍රසිරි විජේරාජ මහතා කරඳවැටිය, එච්.පී.ටී.පී ජයන්ත මහතා - පොල්ගහවෙල, එන්. ඩබ්. පී සුමනරත්න මහතා - වතුපිටිවල, ගයාන් අගලවත්ත මහතා - හේමාස් ආයතනය - එකතුව - රු. 6,960/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 175,780/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 243,500/- ♦ අනෙකුත් වියදම් - 21,050/- ♦ සම්පූර්ණ වියදම - රු. 264,550/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 / 0112744308)
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
5. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
6. පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369
7. සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081
8. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
9. පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714
10. යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220
11. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023)
12. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට
13. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
14. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
15. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
16. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
17. සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776
18. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# උරුමයි සංසාර දුක කෙලවර පිරි නිවන









ඉර සේ නැගී එයි සුනිමල දහම ලොවේ
පරයා අඳුර නැණ ආලෝකය මතු වේ
දුර යා යුතුද මේ ඝණඳුරු සසර භවේ
හැර යා යුතුය තුන් ලොව දැක නිවනෙ සුවේ

සහසක් සාදු නද පැතිරෙයි සතර දිග
දහසක් මාර බැමි බිඳ එයි දහම නැග
මෙතුවක් වැසී පැවතුනි ලොව මග නොමග
සැකයක් නොමැත දැන් විවරය නිවනෙ මග

ඇළුනොත් ලොවෙහි කෙලවර නැත ගමන දුර
ගැටුනොත් දොසින් දුක වෙයි මහ දුගති නිර
වුවහොත් මිසදිටුව හිමි වෙයි ඝණ අඳුර
මිදුනොත් මුලාවෙන් උරුමයි ජය මිතුර

මේසා වටින දහමක් නැග එන කලෙක
ආසා පොදි බැඳන් ආ දුර ගමන දැක
ඒසා කාලයක් කළ පවු දා පසෙක
පාසා මොහොත නියැලෙනු කුසලෙක පිනෙක

ගෙන දෙයි පින් ඵලය සුවබර දිවි ගමන
ලැබ දෙයි කුසල් මතු අජරාමර නිවන
පැහැදෙයි දෙව් බඹුත් ගෙන දෙයි රැක වරණ
උරුමයි සසර දුක කෙලවර පිරි නිවන

පබැඳුම - සුචරිත ආරියරත්න, වලස්මුල්ල











# ඉක්මන් කොටයි...














ඉක්මන් කොටයි යන කියමන ලොවෙහි    වන
දැක්මකි මතු පිටින් වැනසුම පිණිස    යන
නික්මෙන්නට භවින් සැනසුම නිවන    දෙන
ඉක්මන් කළොත් කොට වෙයි අරි මගෙහි    දැන

ලොව සත ඉක්මනින් කළ යුතු දෙය හැර    දා
භවයෙහි ඇලෙන්නට ඉක්මන් වෙයි වෙර    දා
පවනට බඳු වූ ගමනින් දිවියද නොර    ඳා
දුව දුව ඇදෙයි දුකටම කොතැනද වර    දා

තණ්හා පොදි බැඳන් ඉක්මන් ගමන්    යන
සුන් වන ලොවක මනු සත ඇත ගිමන්    ලන
පින් දම් කරන වැඩකට නම් හෙමින්    තැන
වෙන් වන විටදී පිහිටද ඒ ලෙසින්    වන

දම් දුටු දනන් ඉක්මන් වන දෙයක්    ඇත
නිම් හිම් නැත මිදෙන්නට සරු භවක්    නැත
පිම්මට ගියොත් අරි මග කෙළවරක්    වෙත
තුම් ඵල ගෙනෙයි නිවනින් සැනසුමක්    දෙත

කොට වෙයි නම් සසර යමකින් පමා    නොවී
බට යුතු ඉක්මනින් එමගට මනාප    වී
හෙට පණ ගියත් තව දිගු නැත භවේ    දැවී
පිට වෙයි තුන් ලොවින් භව දුක සදා    නිවී

දෙඅරුත් දෙවන කියමන් දැක නැණින්    සිට
ගුණවත් පිරිස යයි ඉක්මන් ගමන්    කොට
හරවත් ලෙසට නොදුටුවහොත් වදන්    හෙට
කොට වෙත් සැපත දෙලොවම දුක් ගොඩින්    වට

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී